සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ වප් මස (ව්‍යවහාරික වර්ෂ 2018 ඔක්තෝබර්)

86 වෙනි කලාපය



## මෙලොව පරලොව නිවන යන තුන් අභිවෘද්ධියටම මං පාදන

## නිවැරදි බෝධි පූජාවකට උපදෙස්...












සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# මව් පිය ගුණ









සිව් බඹ විහරණය තුල හදවත මුදුය
පෙව් කිරි සදිසි දරු පෙම අති පිරි සුදුය
නිව් දුක කඳුල මව් ගුණ මහ මෙර බඳුය
මව් පිය දෙපළ යනු සත හට හිරු සඳුය

සෙවණෙහි මවගෙ ලද හැකි එම සොඳුරු සුවේ
මෙලොවෙහි කවර සැපකට වුව දෙවෙනි නොවේ
නිවසෙහි මිණි පහන සළකුණ මිතුරු බවේ
වැනුමෙහි සුදුසු උවමක් තව කොහිද ලොවේ

වෙහෙසෙන ගැහැට කරදර සැමෙකට උරදී
සළකන විටදි පියෙකුගෙ මෙහෙවර මෙහිදී
සිය පණ දෙවෙනි කොට අඹු දරු කැළ රැකදී
අනු දැන වසයි බුදු බණ දහමෙහි පැහැදී

රැය දහවල කියා නැත විසි හතර පැයේ
වැය වෙයි සවිය එනමුදු සිතැ දිරිය තියේ
සිය දරු පැටව් ගැනමය පෙම බැඳුන ළයේ
පිය වර පෙරටමය නැහැ පසු පසට ගියේ

දෙගුරුන් ඔබ අතැර පරලොව යන තෙක්ම
සිහිනෙන් වුව නොහළ යුතු කළ ගුණ දැක්ම
මෙලොවෙන් ගියද අතහැර හැම සැප තක්ම
දරුවන් ගැන සිතනු ඇත හැම මොහො තක්ම

ගුණ කඳ දෙගුරුනගෙ මහ සමුදුරට සම
දැන ගරු සරුව සළකනු දෙගුරුනට තම
බණ දහමට අනුව මෙම ගුණ ගරුක කම
මොනවට පිහිට වන දහමකි දෙලොවට ම

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම 01

උතුම් ශ්‍රී සද්ධර්මය හෙවත් මහා විද්‍යාවේ හදවත වැනි චතුරාර්ය සත්‍ය ධර්මය පිළිබඳව නිවැරදිව මනා වැටහීමක් ඇති කරගන්න අවශ්‍ය කරුණු කාරණා ටිකක් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නෙ. චතුරාර්ය සත්‍යය හෙවත් සිවු අරිසස් කියන මේ වචන පෙළ අපි පාසල්, දහම් පාසල් යන කාලෙ ඉඳන්ම කටපාඩමින් ඉගෙන ගෙන තියෙනවා. දුක්ඛ, දුක්ඛ සමුදය, දුක්ඛ නිරෝධ, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා කියන ආර්ය සත්‍ය 4 අද වෙනකොට සිංහලෙන් අර්ථ දක්වන්නෙ දුක, දුකට හේතුව, දුක නැති කිරීම, දුක නැති කරන මාර්ගය කියල. හැබැයි මේ වචන හතරෙන් කියවෙන අර්ථය හරියට වටහා ගත්ත නම් මේ ආර්ය විනයේ හෙවත් සම්බුද්ධ සාසනයේ සෝවාන්, සකදාගාමි, අනාගාමි, අරිහත් කියන ඒ උත්තරීතර මාර්ග ඵල නිවන් ලබන්න හේතු වෙනවා. සියලු පාපයන්ගෙන් වෙන් කරල අවසානයේ අමා මහ නිවන් සුව පූර්ණ කරගන්න හේතු වෙන සත්‍ය හතරක් තමයි මේ. හැබැයි පටලවා ගන්නෙ නැතිව හරියට වටහා ගන්න ඕන.

ඉතින් මේ වගේ වටිනා මාධ්‍යයක් අද වෙනකොට කොයි තරම් දුරට ප්‍රායෝගිකව ඉස්මතු වෙලා තියෙනවද? මේ ඉන්න බෞද්ධ කියන ජන සමාජය මේ කියන දුක, දුකට හේතුව, දුක නිරෝධය, දුක නිරෝධ කරන මාර්ගය දැකල තියෙනවද? ඒ ගැන කොච්චර දුරට වැටහීමක් තියෙනවද? මේ ආර්ය විනයේ පළමුවෙන්ම ලැබෙන දහම් අවබෝධය හෙවත් මග ඵලය තමයි සෝතාපන්න කියන්නෙ. අන්න ඒ ආර්ය ශ්‍රාවකයා ඒකාන්තයෙන්ම මේ සත්‍ය හතර දර්ශනය කරල තියෙන කෙනෙක් කියන කාරණය ධර්මයේ විග්‍රහ වෙනවා. මෙන්න මේ අවස්ථාව අපිටත් උදා වුනා නම්, මේ ධර්මය තුල යා යුතු විසාල දුර ප්‍රමාණයක් ගිහින් විමුක්තිය / නිදහස කරා ඇවිත් තියෙන බව තේරුම් ගන්න ඕන.

මේ ගැන විග්‍රහ කරනකොට මේ කාලයේ නොයෙකුත් මත භේද තියෙනවා. ඒ ගැන නොයෙක් අදහස් පතුරවනවා. ඒ හැම කාරණයකදිම කෙනෙක් කිව්ව පළියට පිළිගන්නෙ නැතිව තමන්ගෙ බුද්ධිය මෙහෙයවල ඒ කියන කාරණා බුද්ධි ගෝචරද කියල බලන්න ඕන. චතුරාර්ය සත්‍යය බුද්ධි ගෝචරයි කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. හේතු වාසනා තියේ නම් ඒ දහම අවබෝධ වෙනකොට තමන්ටත් වැටහෙනවා, මේ කියන දහම හරියටම හරිනෙ, ඒ බුද්ධි ගෝචර බව නිසානෙ මටත් වැටහෙන්නෙ කියල.

මේ මහා විද්‍යාව හොයා ගත්ත ලෝකයේ පහල වූ අසමසම මහා විද්‍යාඥයා හෙවත් බුදු පියාණන් වහන්සේ කියන වචනය ඉස්සෙල්ලම අරගෙන බලමු. බුදු පියාණන් වහන්සේ කියන වචනය ගන්න කොටත් අද නානා ප්‍රකාර මතධාරීන්ගේ මත හේතු කොටගෙන ආගමක් වශයෙන් භේද භින්න කරපු කොටසක් හැටියට තමයි මේ බුදු දහම පෙන්වන්නෙ. බුදු රජාණන් වහන්සේ කියල කිව්වම තවත් එක්තරා ආගමික නායකයෙක් කියන අදහස දෙන්න තමයි හුඟක් අය උත්සාහ කරන්නෙ. නූතන සමාජයේ වැඩසටහන් සකස් වෙලා තියෙන්නෙත් ඒ විදිහට.

ඒත් මේ අවස්ථාවෙදි ජාති කුල මල භේදයක්, ආගම් භේදයක් හෝ වෙනත් කිසිම භේදයක් නැතිවයි බුදු පියාණන් වහන්සේ නමින් හඳුන්වන මහා විද්‍යාඥයා ගැන අපි තෝරගන්න ඕන. ඒ මහා විද්‍යාඥයා පෙන්වා දුන්න කාරණා කිසිම ආගමකට හෝ ජාතියකට හෝ රටකට හෝ පක්ෂපාතී වෙලා දුන්න දේවල් නෙවෙයි. තමන්ගෙ මතධාරීත්වයක් පෙන්වපු ඒවා නෙවෙයි. හරියාකාර හේතු ඵල න්‍යායන්ට අනුකූලව පෙන්වා දුන්න විද්‍යා සිද්ධාන්ත මාලාවක්. අන්න ඒ විද්‍යා සිද්ධාන්ත ජාතියකට, ආගමකට හෝ රටකට සීමා වෙලා නෑ. ලෝක සම්මතයේ වුනත් යම් කිසි විද්‍යාඥයෙක් විසින් පිළිගන්න පුළුවන් විද්‍යා සිද්ධාන්තයක් ඉදිරිපත් කළොත් අපි ඒක ජාති ආගම් කුල මල භේදයකින් තොරව පිළිගන්නෙ කොහොමද, විමර්ශනය කරන්නෙ කොහොමද, අන්න ඒ ආකාරයෙන් තමයි බුදුන් වහන්සේ පෙන්වා දුන්න විද්‍යා සිද්ධාන්තත් විමර්ශනය කරල වටහා ගන්න ඕන. ඒවා විමර්ශනය කරන්න, නිදහස් ඥාන ගෝචර මානසිකත්වයකින් හිතල බලන්න ඕනෑම කෙනෙකුට පුළුවන්. එහෙම විමර්ශනය කරල බලල තම තමන්ට වැටහෙන විදිහට අදහස් ප්‍රකාශ කරන්නත් ඕනෑම කෙනෙකුට අයිතියක් තියෙනවා. ඒකට සීමාවක් පනවන්න කාටවත් බෑ. තම තම නැණ පමණින් දත යුතු කියල කිව්වෙ ඒකයි.

එහෙම නැතිවල "ඉදමේව සච්චං මෝඝ මඤ්ඤං" කියන, මම කියන එකයි හරි අනෙක්වා වැරදියි කියන තැන නෙවෙයි ඉන්න ඕන. නමුත් **අද වෙනකොට, තමන් දරන මතය විතරයි හරි අනෙක්වා ඔක්කොම වැරදියි කියන්න ගිහින් සමහර ගිහි පින්වතුන් විතරක් නෙවෙයි, භික්ෂූන් වහන්සේලා පවා එකිනෙකාට නොයෙක් අපවාද උපවාද එල්ල කරගන්නවා.** මේ වෙනකොට නවීන සමාජයේ තියෙන ශ්‍රව්‍ය දෘෂ්‍ය මාධ්‍ය දෙකින්ම ඒ කාරණය ප්‍රබලවම දැක බලා ගන්න පුළුවන්. **වෙන කෙනෙකුට තමන්ට ගෝචර වෙන විදිහට දහමක් කියන්න බෑ. ඒවාට නොයෙක් අපහාස උපහාස එල්ල කරනවා. අභූත චෝදනා එල්ල කරනවා. තහංචි පනවන්න උත්සාහ කරනවා. තමන්ගෙ පිරිස ඇතුළු ලාභ කීර්ති ප්‍රසංසා වැඩි කර ගන්න ගිහින් තමයි මේ ඔක්කොම සිද්ධ වෙලා තියෙන්නෙ.** ඉතින් හරි දහමක් අවබෝධ වුනා නම් එහෙම වෙන්න පුළුවන්ද? තමන් දන්න දේ හරියට කිව්ව නම් අනෙක් අයගෙ පුද්ගලික නම් ගම් පවා යොදාගෙන පහත් විදිහට ආමන්ත්‍රණය කරල, ඒ අය කියන බණ වැරදියි අපි කියන ඒව විතරයි හරි කිය කියා කාලය නාස්ති කරමින් ලෝකයාට අඬ බෙර ගහන්න ඕනද? ඒක බෞද්ධකමද? තුන් කල් නුවණ තියෙන බුදුවරයාණන්

වහන්සේ නමකට හැර තව කෙනෙකුට තව කෙනෙක්ව එහෙම පුද්ගලිකව විවේචනය කරන්න පුළුවන්ද?

ඉතින් මේ කාරණා නිසා තමයි බුදු පියාණන් වහන්සේ සතර මහාපදේශ කියල ක්‍රමයක් දේශනා කරල තියෙන්නෙ. චතුරාර්ය සත්‍යය පිළිබඳවත් ඒ විදිහට තේරුම් ගන්න ඕන. ඒක තේරුම් ගන්නෙ නැතිව නොයෙක් මතවාදවලින් ගහණ වෙලා අද වෙනකොට දකින්න තියෙන ප්‍රධාන කාරණයක් තමයි, සෝතාපන්න කියන තත්ත්වය හරියට අරහත් කියන තත්ත්වයට සමාන කරල ඒ ගති ලක්ෂණ තියෙන කෙනෙක් විදිහට පෙන්වන්න උත්සාහ කිරීම. නමුත් සෝතාපන්න උතුමා කෙබඳු චරිත ලක්ෂණ තියෙන කෙනෙක්ද කියල දහමේ පැහැදිලිව විග්‍රහ කරල තියෙනවා. අද ඒ ගැන හොයල විමර්ශනය කරල බලනකොට දකින්න තියෙන්නෙ සාමාන්‍ය තත්ත්වයක් නම් නෙවෙයි. කිසිම ආකාරයකින් පවක් සිද්ධ නොකරන සුද්ධවන්තයෙක් විදිහට තමයි හිතාගෙන ඉන්නෙ. එහෙම කෙනෙක් අද දකින්න නෑ, එහෙම කෙනෙක් නම් අමුතුම ආකාරයේ කෙනෙක් වෙන්න ඕන, මේ සමාජයේ ඉන්න කෙනෙක් වෙන්න බෑ කියන හැඟීමක් ඇතිවෙන විදිහට තමයි සෝතාපන්න ඵල ලාභියා පිළිබඳව අද ලෝකයා දැනුවත් කරල තියෙන්නෙ.

ඒ නිසා චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කර ගැනීමේ මූලික අවස්ථාවේ ස්වභාවය පෙන්වන්න පෙර සෝතාපන්න පුද්ගලයා පිළිබඳවත් කියන්න සිද්ධ වෙනවා. එතකොට දහම තේරුම් ගන්න ඒක ලොකු ආධාරකයක් වෙනවා. ඒ කාරණය උදාහරණ කිහිපයකින් මේ විදිහට පැහැදිලි කරගනිමු.

යම් කිසි කුලවන්ත ගැහැණු ළමයෙක් බොහොම සීලවන්තව ගුණවන්තව ඉන්නවා. උදේ හවා බුදුන් වඳිනවා. තෙරුවන් නමස්කාර කරනවා. ගරු කරනවා. නොයෙක් ආකාරයෙන් දාන මාන දෙනවා. දැන් ඒ ළමය මේ වගේ ඉන්නව දැකල කවුරුහරි කිව්වොත්, මෙයා නම් සෝතාපන්න වෙලා ඉන්නෙ කියල, එහෙම නැත්නම් එහෙම වෙන්න ඇති කියල, ඒ කාරණය විග්‍රහ කරන්නෙ කොහොමද? කවුරුහරි ඒක පිළිඅරගෙන ඒ ළමය ගැන සෝදිසියෙන් විමර්ශනාත්මකව ඉන්නකොට යම් දවසක දකිනවා, මේ ළමයා සත්තු මරල විකුණන, එහෙම නැත්නම් ලෝක සම්මතයේ මොනව හරි පහත් රැකියාවක් කරන එහෙම කෙනෙක් එක්ක රහසිගතව පැනල ගියා කියල. දෙමව්පියන්ටත් නොකියා මේ ළමයා රහසිගතවම පැනල යනවා. අද කාලෙ වුනත් එහෙම දේවල් ඕන තරම් අහන්න ලැබෙනවා. මලක් වගේ හිටිය ළමයා එක පාරටම වෙනස් වුනා! කොහේද යන නොසණ්ඩාලයෙක් එක්ක පැනල ගියානෙ... ඔය වගේ කතා අදත් අපිට සමාජයේ අනන්තවත් අහන්න ලැබෙනවා. දැන් ඒ ළමය ඒ විදිහට පැනල ගිහින් විවාහ ජීවිතයක් ගත කරනවා. ඉතින් අතීතයේ තිබ්බච සසර ගනුදෙනු, කර්ම වේග නිසා එහෙම දේවල් වෙන්න පුළුවන්. දැන් කවුරු හරි කිව්වොත් එහෙම, අන්න උඹ සෝවාන් වෙලයි කියපු කෙල්ල දැක්කද කරල තියෙන දේ කියල, මොකද කියන්නෙ? අද එහෙම කිව්වොත් ඒ සෝවාන් වෙච්ච කෙනෙක් කියල, අන්න සෝවාන් වෙන හැටි බලාගනිල්ල කියල ඕකට එන අපවාද අපහාස කෙළවරක් නෑ.

ඒ වගේම යම් කෙනෙක් නිතරම මත් වතුර පානය කරනවා. වයස අවුරුදු 60 - 70 ගිහිල්ලත් බොනවා. පුරුද්ද අත් හැරගන්න බෑ. ඔය විදිහට දිගටම බිබී ඉන්න කෙනෙක් පන්සලක් පැත්තෙ ගිහින්, හොඳ දහම් අවබෝධයක් තියෙන භික්ෂුන් වහන්සේ නමක් මුණ ගැහිල, හොඳ බණක් අහල, දැන් තමයි මට තේරුනේ කියල ඒ ගැන වර්ණනා කර කර ඉන්න ගමන්, අර පුරුද්ද එකපාරටම අත්හැර ගන්න බැරිව ආයෙත් ගිහින් බිව්වොත් ලෝකයා මොනවා කියයිද? අර පුද්ගලයගෙ අතීත ස්වභාවයෙන් තමයි වර්තමානය මනින්නෙත්. අනේ බේබද්දා ඕකට තේරිච්ච බණ! ඔහොම කියන්නෙ නැත්ද? ඇත්තටම ඔහු ඒ බණ අහල සෝවාන් වෙලා හිටිය නම් ඒක සමාජය පිළිගනියිද? ධර්මය විකෘති කරන හාමුදුරු කෙනෙක්ගෙන් බණ අහල ආං අර බේබද්දා සෝවාන් වෙලාලු... ඔය වගේ බේබද්දන්ටත් සෝවාන් වෙන්න පුළුවන් බණනෙ මේ අය කියන්නෙ... ඔය ආදී වශයෙන් සමච්චල් කරන්නෙ නැත්ද? එහෙම අය සම්බන්ධයෙන් මේ බෞද්ධ සමාජය මුල් කරගෙන කොහොම විවේචන එල්ල වෙයිද? සෝතාපන්න පුද්ගලයා එහෙම අවස්ථාවලත් ඉන්න පුළුවන් කියල කවුරු හරි භික්ෂුන් වහන්සේ නමක් බණට කිව්වොත් එහෙම, මේ මොන බණද කියන්නෙ කියල මොන තරම් අපහාස උපහාස කරයිද? නමුත් ත්‍රිපිටක පෙළ දහමේ එන මේ වගේ කාරණා සම්බන්ධයෙන් පොඩ්ඩක් විමර්ශනය කරල බලන්න ඕන.

බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ හත් අවුරුද්දෙන් බණ අහල සෝවාන් වෙච්ච එක්තරා සිටු කුමාරියක් හිටියා. මේ සිටු කුමාරිය අවුරුදු 16 ක් යනකල් නිතරම ඒ යහපත් ගුණ සිතින් හොඳ සුචරිතයකින් කටයුතු කරමින් හිටියා. සිටු මාලිගාව තුල ඇයව දැඩි ආරක්ෂා රැකවල් සහිතවයි හැදුවෙ. ඇය මෙහෙම ඉන්නකොට දවසක් කැලේ සත්තු දඩයම් කරල නගරයට ඇවිත් මස් විකුණන තරුණයෙක් උඩු මහල් තලේ ජනෙල් කවුළුවෙන් දැක්කා. දැකල විසාල ලෙන්ගතු හිතක් ඇති වුනා. මේ තරුණයා මට විවාහ කරගන්න නොලැබුනොත් මගේ ජීවිතෙන් ඇති වැඩකුත් නෑ කියල හිතල, කොහොම හරි මේ තරුණයත් එක්ක රහසිගතව සැඟවිලා විවාහ ජීවිතයකට යන්න ඕන කියල අදහසක් ඇති වුනා. හැබැයි නිකම්ම පිටත් වෙලා යන්නත් බෑ. සිටු මාලිගාවක් නිසා මුරකාවල් එහෙම දාල තියෙන්නෙ. ඒ නිසා මොකද කළේ, උපක්‍රමයක් යොදල දාසියකගෙ ඇඳුම් ඇඳගෙන සිටු කුමරියට අවශ්‍ය කරන මල් ගේන්න යන විදිහට මල් කුඩෙකින් මුණ වහගෙන පැනල ගියා. ගිහින් අර මස් විකුණන තරුණයා ආපසු යන වෙලාවෙ ඔහුත් එක්ක කතා කරගෙන කාටත් හොරෙන් යන්න ගියා. එහෙම ගිහින් විවාහ වෙලා දරුවො දහ දෙනෙක් හදාගෙන මහ කැලේක ජීවත් වුනා.

දැන් මේ කතාව අපේ පෙළ දහම තුල පැහැදිලිව විග්‍රහ වෙලා තියෙනවා. (ධම්ම පද පාළිය - පාප වග්ගය - 124 ගාථාවේ නිදාන කතාව) මේ තමයි හත් අවුරුද්දෙන් සෝවාන් වෙච්ච කාන්තාවකගෙ ඉතිරි වෙලා තිබ්බච කෙළෙස්වලට අනුව චරිත ස්වභාවයේ හැටි. අද වගේ කාලයක ඔහොම දෙයක් වුනා නම් එහෙම, අන්න සෝවාන් කිව්ව කෙනාගෙ හැටි මෙහෙමයි කියල කිව්වට, සෝවාන් වෙච්ච කෙනෙක් එදා හිටපු ආකාරයක් ඔය විදිහට පැහැදිලිවම පෙළ දහමේ පෙන්වා තියෙනවා. හැබැයි ඒකෙන් කියන්නෙ නෑ සෝවාන් වෙච්ච හැමෝම ඔය වගේ කියල. සසර ගනුදෙනුත් එක්ක ගොඩ නැගිච්ච එක්තරා චරිත ලක්ෂණයක් විතරයි ඒකෙන් පෙන්නුවෙ. කොටින්ම කියනව නම් සෝවාන් වෙච්ච කෙනෙක්ගෙ අතින් එහෙම

## මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම



දේවල් වෙන්න පුළුවන්. මේ සිද්ධිය ගැන බුදුන් වහන්සේගෙන් විමසුවම උන්වහන්සේ උත්තර දෙනවා, වස ඇල්ලුවට අතේ තුවාල නෑ කියල. ඒ කියන්නෙ තුවාල තිබුනොත් විතරයි වස ශරීරගත වෙන්නෙ. හැබැයි ඒකෙන් සතර අපාගත නොවන මට්ටමේ පාපයකුත් සිද්ධ වෙනවා. මොකද **මාතු රක්ඛිතා - පිතු රක්ඛිතා කියන මව්පියන් විසින් පෝෂණය කරල රැක බලාගන්න ළමයෙක් දෙමව්පියන්ගෙ අවසරයකින් තොරව ඒ වගේ විවාහයකට යැමත් කාම මිථ්‍යාචාරයේම එක්තරා කොටසක් හැටියටයි විග්‍රහ වෙන්නෙ.** ඉතින් සෝවාන් කෙනෙක් කියන්නෙ රහතන් වහන්සේ වගේ සියලු පව් බැහැර කළ කෙනෙක් නෙවෙයි. ඒ නිසා සතර අපාගත නොවන මට්ටමේ යම් යම් අකුසල් සිද්ධ වෙන්න පුළුවන්.

දැන් ඉතින් මේ සිටු කුමාරියගෙ කතාව ඇහුවම, ඒක වැරදියි, ඒක නම් අපිට පිළිගන්න බෑ කියල පෙළ දහමේ එන ඒ කොටස කපල දාන්න පුළුවන්ද? නමුත් ඒ කාරණයත් ධර්මානුකූලව විග්‍රහ කරගෙන යනකොට එකින් එක තේරෙන්න පටන් ගන්නවා, එහෙම දේවල් වෙන්න පුළුවන් කියල. එහෙම නැතිව ත්‍රිපිටකයේ තියෙන නිසාම පිළිගන්න කියනව නෙවෙයි. ඒක සාක්ෂියක් විදිහටයි පෙන්නුවේ. එහෙම සෝතාපන්න වෙනකොට ගෙවිල තියෙන කෙළෙස් මොනවද, ඇතිවෙලා තියෙන සුද්ධතාවය කෙබඳුද කියල දහමෙන් විග්‍රහ කරල බලන්න ඕන.

දැන් අර කලින් කියපු වගේ බේබදු පුද්ගලයෙක් දැක්කොත් ඒ පුද්ගලයා ගැන කොහොමද සමාජය හිතන්නෙ? මහා වනචරයෙක්, සල්ලාලයෙක්, මහා බේබද්දෙක්, උන්ට කවද්ද බුදු දහමක් වැටහෙන්නෙ?... මේ වගේ අන්වර්ථ නම් පවා පට බඳිමින් නොයෙක් අපහාසාත්මක ස්වරූපයෙන් තමයි කතා කරන්නෙ. නමුත් ඒකටත් සාක්ෂියක් ත්‍රිපිටක පෙළ දහමේ එන සරකානි කියන සූත්‍රය තුළින් හොයාගන්න පුළුවන්. (සං. නි. 5 - 2 - 190 පිටුව)

සරකානි කියන්නෙ ශාක්‍ය වංශිකයෙක්. අවුරුදු 80 ක් යනකල්ම රා බීල මත් වෙලා ජීවත් වෙච්ච ස්වභාවයක් තමයි ඔහුගෙ චරිතයේ විශේෂ ලක්ෂණයක් වශයෙන් තිබුනෙ. එතකොට මත් වතුර බොන අය පිළිකුල් කරන ලක්ෂණයක් ශාක්‍ය කුලයේ තිබුනා. ඒ නිසා ශාක්‍ය කුලයේ කුලවතුන් හැටියට පෙනී සිටින අය මොකද කළේ, මේ පරය අපේ කුලේටත් නිග්‍රහ කරනව කියල පර ශාක්‍ය කියන වචනයක් දාල, උඹ අපිට නෑදෑකමක්වත් කියන්න එන්න එපා කියල තමන්ගෙ පිරිසෙන් සම්පූර්ණයෙන්ම අයින් කළා. අන්තිමට ඔහු ඒ ගැන බොහොම සංවේගයෙන් තමයි හිටියෙ. අවුරුදු 80 ක් විතර යනකොට, ඔක්කොම මාව කොන් කරල කියල දුක් වෙවී ඉන්න වෙලාවක, යම් කිසි පින්වතෙක්ගෙ මාර්ගයෙන් බුදු පියාණන් වහන්සේ පිළිබඳ විස්තරයක් මේ සරකානිට දැනගන්න ලැබුනා. ඔබේ කුලයට, ගෝත්‍රයට අයිති වෙලා හිටපු කෙනෙක් මෙන්න මෙහෙම ඉන්නවා, භවත් ගෞතම නමින් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ හැටියටයි දැන් ලෝකයා හඳුන්වන්නෙ, ගිහින් මුණ ගැහිල පොඩ්ඩක් අහල බලන්න, අනික් කවුරු අයින් කළත් උන්වහන්සේ නම් ඔබව අයින් කරල පලවා හරින එකක් නෑ. මෙහෙම කියල බුදු පියාණන් වහන්සේ මුණ ගැහෙන්න ඔහුට යම් කිසි රුකුලක් දුන්නා.

ඒ අවස්ථාවෙදි කොහොම හරි සරකානි බුදුන් වහන්සේව මුණ ගැහිල තමන්ගෙ දුක් අඳෝනාව කිව්වා. ස්වාමීනි, මම බොනව කියල මගේ පිරිස ඔක්කොම මාව අයින් කරල කුලයට ගැලපෙන්නෙ නැති කෙනෙක් කියල පර ශාක්‍ය කියල නමකුත් දාල. ඒ ගැන මට හරි දුකයි. ඔබවහන්සේ අපේ කුලයට අයිති කෙනෙක් කියල මම අහල තියෙනවා. ඒ නිසයි ඔබ වහන්සේ හමුවෙන්න ආවෙ කියල කියනකොට, සම්පූර්ණයෙන්ම කෙනෙක්ගෙ අභ්‍යන්තරය දකින්න පුළුවන් ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥානය තියෙන බුදුන් වහන්සේ, ඒ මහා විද්‍යාඥයා, ඔහුගේ මානසිකත්වය දැකල චිත්ත ප්‍රසාදය ඇතිවෙන ආකාරයට, ඒ තිබුන කුල ගොත් සම්බන්ධයත් කියල, කෙනෙක් එහෙම වැරදි වැඩ කළා කියල ඒ තියෙන ඥාතිත්වය නැති කරන්න බෑ කියල යථාර්ථයෙන් කරුණු පෙන්වල දුන්නා. කවුරු අයින් කළත් මාව හොඳින් බාරගන්න කෙනෙක් අපේ ගෝත්‍රයේ ඉන්නවනෙ, උන්වහන්සේ බොහොම වටින කෙනෙක්, මම උන්වහන්සේගේ කියමනෙන් පිට යන්නෙ නෑ කියල සරකානිට බොහොම පැහැදීමක් ඇතිවෙන්න පටන් ගත්තා. මෙන්න මේ විදිහට තථාගතයන් වහන්සේ කෙරෙහි ඇතිවුන චිත්ත ප්‍රසාදයෙදි උන්වහන්සේ දේශනා කළ ධර්මයක් තුළින් පළමු සත්‍යාවබෝධය ලබා ගත්ත සරකානි අවුරුදු 80 ක්ම ජීවත් වෙලා හිටියෙ මත් වතුර පානය කරමින්. හැබැයි මේ අවස්ථාවෙදි ලෝකය පිළිබඳව යථාවබෝධය ලැබුන නිසා ලෝකයේ අසාරත්වය වටහා ගත්තා. නමුත් අර බොන පුරුද්ද අත් හැරුනෙ නෑ. ඒක එහෙම්ම තිබුනා. මොකද **දහම් අවබෝධයක් ලැබුව පළියට කාලයක් තිස්සෙ කරගෙන ගිය පුරුදු එක පාරටම නැති වෙන්නෙ නෑ.** දැන් ඉතින් සරකානි මේ විදිහට ඇවිත් තමන්ගෙ පරපුර ඉන්න ප්‍රදේශයේ ජීවත් වෙනකොට දවස් හතෙන් කළුරිය කළා.

ඒ වෙලාවෙදි මහානාම කියල සෝතාපන්න වෙච්ච ශාක්‍ය කුමාරයෙක් හිටියා. ඔහු බුදුන් වහන්සේ මුණ ගැහිල කියනවා, ස්වාමීනි අර සරකානි එදා ඔබවහන්සේගෙන් බණ අහල ඇවිත් අද මියපරලොව ගිහින්, ඔහුගේ ගතිය / උප්පත්තිය මොකක්ද කියල. එතකොට උන්වහන්සේ දේශනා කරනවා, සරකානි තව්තිසා දෙව් ලොව උපන්න කියල. ඉතින් මේ කතාව ඇහුවට පස්සෙ බුද්ධ වචනය ගැන ඔහුට සැකයක් නෑ. මොකද ඔහුත් සෝතාපන්න වෙලා හිටියෙ. ඒ නිසා ගිහින් තමන්ගෙ ශාක්‍ය පරපුරට කියනවා, සරකානි තව්තිසා දෙව් ලොව උපන් බව බුදුන් වහන්සේ කිව්ව කියල. එතකොටම ඒක අහපු පිරිස නොයෙක් ආකාරයෙන් කොක් හඬ දීල උසුළු විසුළු කරමින් හිනාවෙන්න පටන් ගත්තා. දැන් ඕන තරම් දුශ්චරිත කරපල්ලා, මැරෙන්න දින 7 ක් තියේද්දි පලයල්ලකො භවත් ගෞතමයන් ළඟට කෙලින්ම තව්තිසා දිව්‍ය ලෝකෙට යවනව කියල මේ විදිහට අපහාස උපහාස කරන්න පටන් ගත්තා.

මේ අවස්ථාවෙදි බුදුන් වහන්සේට විරුද්ධව කරන කතා අහල සංවේගයට පත්වෙලා මහානාම කුමාරයා නැවත වතාවක් ගිහින් බුදුන් වහන්සේට මේ කතාව කිව්වා. එතකොට උන්වහන්සේ දේශනා කරනවා, මහානාම ඒ අය මොනවා කිව්වත් සත්‍යය ඒකයි, ඒක වෙනස් වෙන්නෙ නෑ, සරකානි නැවත මේ ලෝකෙට එන්නෙ නෑ, මරණාසන්න කාලෙදි බණ අහල දහම් අවබෝධය ලබා ගත්තා, ඒ නිසා තමයි ඔහු දෙව්ලොව උපන්නෙ කියල.

එහෙනම් මේක තමයි විශේෂත්වය. ඒ නිසා පුද්ගලයෙක්ගෙ චරිත ස්වභාවය උඩින් මත්තෙන් දැකපු පළියට කලබල වෙන්න හොඳ නෑ. මේ පුද්ගලයා යථාවබෝධයක් තියෙන කෙනෙක්ද නැත්ද කියල අපිට නිගමනය කරන්න බෑ. ඒක එල්ල කරල කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි. ඒ නිසා මේ මේ නරක වැඩ කරපු කෙනා ඒකාන්තයෙන් අපායෙ යනවා, මේ මේ හොඳ වැඩ කරපු කෙනා ඒකාන්තයෙන් දෙව් ලොව යනවා... මේ ආදී වශයෙන් විග්‍රහ කරන්න යන්න හොඳ නෑ. ඒ නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කළේ, යම් කිසි පුද්ගලයෙක්ගෙ පුද්ගලික චරිත ලක්ෂණ හරියාකාරව දැකල ඔහුගේ ගතිය මේ ආකාරයි, උපත මේ ආකාරයි කියල කියනව නම් ඒ ගතිය දැකීම සර්වඥ ගෝචර දහමක් කියල (අංගු. නි. 4 - <u>මිගසාලා සූත්‍රය</u> - 115 පිටුව). ඒ කියන්නෙ, ඒ කාරණය ඒකාන්ත කරල කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි. යම් කිසි කෙනෙකුට තියෙන දිව්‍යස් සමාධියකින් කෙනෙක්ගෙ උප්පත්තිය කියන එක නෙවෙයි මේ කියන්නෙ. **පුද්ගලයෙක්ගෙ ගති ස්වභාවය දැකල ඔහුගේ ගතිය / උපත එල්ල කරලම කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි.**

එහෙනම් මෙතනදි අපි දකින්න ඕන, බාහිර ස්වභාවයක් ඔප් නැංවිලා තිබිච්ච පළියට අපිට නිගමනය කරන්න පුළුවන්කමක් නෑ, ඒ පුද්ගලයගෙ අභ්‍යන්තරය කොහොමද කියල. ඒ නිසා **නුවණක්කාරම දේ මොකක්ද, අනුන් විවේචනය කිරීම පැත්තකින් තියල, තමන්ට ධර්මාවබෝධය ලබා ගන්න මොනවද කරන්න ඕන, ඒ දහම් අවබෝධය කොතෙක් දුරට තමන්ට ලැබිල තියෙනවද කියල තමන් ගැනම හොයල බලල ඒ සඳහා කටයුතු කර ගැනීම.**

දැන් මෙතනදි චතුරාර්ය සත්‍ය ධර්මය පිළිබඳව දර්ශන ඥානය පහල වෙලා තිබිච්ච අර කුක්කුටමිත්ත කියන වැද්දගෙ බිරිඳත්, සරකානි ශාක්‍යයත් දිහා බලනකොට පේනවා, එබඳු ගති ලක්ෂණ පිටින් පේන්න තිබුනත් අභ්‍යන්තරයේ ලෝක යථාර්ථය පිළිබඳව කොයි තරම් ධර්මාවබෝධයක් ඒ අයට ලැබිල තිබුනද කියල. ඒ නිසා අපි කලබල වෙන්න හොඳ නෑ. සෝවාන් පුද්ගලයෙක් කියන්නෙ උඩින් යන කෙනෙක්, දිව්‍යස් අභිඥා තියෙන කෙනෙක්, වට පිට බලන්නෙ නැතිව බිම බලාගෙන යන කෙනෙක් කියල, එහෙම හොයන්න ගියොත් තේරුම් ගන්න බැරි මුලාවට පත් වෙන එකයි සිද්ධ වෙන්නෙ.

මේ කාරණය මේ විදිහට සඳහන් කළේ එක්තරා කාරණයක් නිසා. මේ වෙනකොට ගිහි පින්වතුන් විතරක් නෙවෙයි, ඇතැම් භික්ෂූන් වහන්සේලාත් පුද්ගල චරිත විවේචනය කරමින් අහවල් පුද්ගලය ස්ථිර වශයෙන්ම ලෝකාන්තරික නරකයට ගියේ, අහවල් භික්ෂූන් වහන්සේ අසංඥ කියන බඹ තලයට ගියේ... ආදී වශයෙන් තමන් ප්‍රත්‍යක්ෂ වශයෙන්ම දැකපු දෙයක් වගේ අන්‍ය ලෝකයා හමුවේ තමන්ගෙ මතවාද ජයගන්න ශ්‍රව්‍ය දෘෂ්‍ය මාධ්‍ය ඔස්සේ ප්‍රසිද්ධියේ ප්‍රකාශ කරනවා. ඒක හරි භයානකයි. තමන්ට පෙර අත්බැව් දකින නුවණක් හෝ තව කෙනෙකුගේ උප්පත්තියක් දකින දිව්‍යසක් හෝ නැතිව, තමන්ගෙ තියෙන පුද්ගලික කෝන්තර පිරිවහගන්න, තමන්ගෙ මතය සනාථ කරන්නම ඒ වගේ නිගමන ජනතාව හමුවේ තැබීමෙන් තමන් විතරක් නෙවෙයි, ඒවා පිළිගන්න ඒ පින්වතුන් පවා අමාරුවේ වැටෙන්න පුළුවන්. **මොකද පුද්ගල විවේචනය හරි භයානකයි. ඒක ගුණවතෙක් එල්ල කරල සිද්ධ කළා නම් අති භයානකයි. ඒ නිසා මේ බුදු දහම තියෙන්නෙ ලෝකයා හදන්න නෙවෙයි, තමන්ට හැදෙන්නයි කියන කාරණය ඉස්සෙල්ලම තේරුම් ගන්න ඕන. තමන්ගෙ හිතේ කප්පරක් කුණු තියාගෙන අනුන්ගෙ හිත්වල කුණු අයින් කරන්න යන එක බුදු දහම නෙවෙයි.**

සමහර ලෝක සම්මත බෞද්ධයො ඉන්නවා, බුදු දහම සම්බන්ධයෙන් විශ්වවිද්‍යාලවලින් උපාධි පවා ලබාගෙන ඒ සම්බන්ධයෙන් විවිධ තත්ත්ව තානාන්තරත් දරනවා. අවබෝධයක් නැතත් කටපාඩමින් වචන ටිකත් කියනවා. හැබැයි තමන් පිළිගන්නෙ නැති, තමන්ට විරුද්ධ මත දරන කෙනෙකුට කරදරයක් වුනාම ඒ ගැන මහ උද්දාමයෙන්, සන්තෝසයෙන් කතා කරනවා. පසුගිය කාලෙ ඔය වගේ දැන උගත්කම් ලබාගෙන, තත්ත්ව තානාන්තර දරන එක්තරා මහත්මයෙක්, තමන් පිළිගන්නෙ නැති යම් කිසි භික්ෂූන් වහන්සේ නමකගේ ශිෂ්‍ය භාවය, භික්ෂු භාවය අහෝසි කළා කියල ආරංචි වුනාම, තමන්ට ඒ ගැන පුදුම සතුටක් දැනෙන බව මුහුණු පොත්වලින්, සමාජ ජාලා වෙබ් අඩවිවලින් පවා අන්‍යයන්ට ප්‍රකාශ කරල තිබුනා. බලනකොට භික්ෂුත්වය අහෝසි කරල තියෙන්නෙ හොරකම් කරලවත්, මිනී මරලවත්, කාම මෛථූනයක යෙදිලවත්, ඒ වගේ පාරාජිකාවට පත්වෙන වැඩක් කරලවත් නෙවෙයි. නිවන් දකින බණ කියන්න ගිහින් ත්‍රිපිටකයේ වචනවලට තමන්ට අවබෝධ වෙච්ච විදිහට අර්ථ නිරූපණයන් දුන්න කියල ඒක ධර්මය විකෘති කිරීමක් හැටියට සළකල. හැබැයි එහෙම අර්ථ නිරූපණයන් දෙන්න පුළුවන් කියල ත්‍රිපිටකයේම එන <u>සංකාසන සූත්‍රයේ</u> පැහැදිලිවම විග්‍රහ කරල තියෙනවා. (සං. නි. 5 - 2 - 285 පිටුව) ඒ අනුව **චතුරාර්ය සත්‍යයට අකුරු, බෙදීම්, ව්‍යංජන අප්‍රමාණයි. ඉතින් අප්‍රමාණ දහමකට පොත විතරක් පෙන්වල හරියනවද? පොතේ තියෙන්නෙ උදාහරණ කිහිපයක් විතරයි. තම තමන්ගෙ දැනුම් මට්ටම් අනුව, අද සමාජයේ තියෙන උදාහරණ අරගෙන විග්‍රහ කරන්න පුළුවන්.**

දැන් බලන්න භික්ෂූන් වහන්සේ නමක් සම්බන්ධයෙන් මේ වගේ දේකටත් සතුටු වෙන්න බෞද්ධයෙකුට පුළුවන්ද? **මේ භයානක සසරෙ ස්වභාවය අවබෝධ වෙච්ච කෙනෙක් නම්, මේ ලෝකෙ අනිච්ච, දුක්ඛ, අනත්ත බව, අසුභ බව වැටහුන කෙනෙක් නම්, තමන්ගෙ සතුරෙකුටවත් කරදරයක් වුනාම ඒ ගැන සතුටු වෙන්න පුළුවන්ද? විශේෂයෙන් භික්ෂූන් වහන්සේ නමකට කරදරයක් වුනාම ඒ ගැන සතුටු වෙන්න පුළුවන්ද? කෙනෙක් එහෙම ලෝභ, ද්වේශ, මෝහ සහගතව සතුටු වෙනව නම්, ලෝක සම්මතයේ බුදු දහම සම්බන්ධයෙන් මොන උපාධි සහතික තිබුනත්, මොන තත්ත්ව තානාන්තර දැරුවත්, ඒ පුද්ගලයාගේ මානසිකත්වය කොච්චර නීචද කියල ලෝක සම්මත බෞද්ධයෙකුට පවා තේරෙන්න ඕන. ඉතින් තමන් බෞද්ධයි කියල**

**ලෝකෙටම අඬ බෙර ගහල, බුදු දහමේ අයිතිකාරයො වගේ හැසිරෙමින් මාධ්‍ය ඉදිරියේ සුද්ධවන්තයින් ලෙස පෙනී සිටින මේ වගේ උදවිය කියන දේවල් ගැන කලබල නොවී දහමට විනයට අනුව බලන්න පුරුදු වෙන්න ඕන.**

ඒ නිසා හොඳින් තේරුම් ගන්න ඕන, චතුරාර්ය සත්‍ය ධර්මය හරියාකාරව කෙනෙකුට වැටහුනා නම්, අන්න ඒ පුද්ගලයාට ධර්ම ඥානයක් පහල වෙනවා, දහම් ඇස පහල වෙනවා. එහෙනම් ඒක සුළු දෙයක් නෙවෙයි, සෙල්ලමක් නෙවෙයි. **සක්විති රජ කෙනෙක් ලබන ශාන්තියක් ඇත්නම්, දහම් ඇස පහල වුන කෙනෙක්ගෙ චිත්ත ශාන්තියෙන් කලාවෙන් කලාවක්වත් සක්විති රජකම නිසා ලබන ශාන්තිය වටින්නෙ නෑ කියල** බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒ වගේම ඒ කාරණය උන්වහන්සේ තවත් උපමාවලින් පෙන්වනවා. නිය පිටට පස් ටිකක් අරගෙන ඒක මහ පොළවෙ ඉතුරු පසුත් එක්ක සංසන්දනය කරල, ඒ වගේම මහ මුහුදට ඇඟිල්ලක් දාල උස්සල ඒ ඇඟිල්ලට එන මුහුදු ජලය මහ මුහුදේ ඉතිරි ජලයත් එක්ක සංසන්දනය කරල භික්ෂූන් වහන්සේලාගෙන් අහනවා මොන ගොඩද වැඩි කියල. ඉතින් නිය පිට තියෙන පස් සහ ඇඟිල්ලෙ තියෙන ජලය, අර මහ පොළවෙ ඉතිරි පස් එක්ක, ඒ වගේම මහ මුහුදෙ ඉතිරි ජලයත් එක්ක කලාවෙන් කලාවක්වත් සංසන්දනය කරන්න බෑ, අල්ප මාත්‍රයයි කියල භික්ෂූන් වහන්සේලා උත්තර දෙනවා. මහණෙනි, **සෝතාපන්න ආර්ය ශ්‍රාවකයාගෙ අත්හැරිච්ච යම් කෙළෙස් ප්‍රමාණයක් ඇත්ද, ඒ ප්‍රමාණය මේ මහ පොළවෙ පස් හා සමානයි, මහ මුහුදෙ ජලය හා සමානයි, ඒ වගේම ඉතිරි වෙච්ච කෙළෙස් ප්‍රමාණයක් ඇත්ද, ඒ ටික නිය පිටට ගත් පස් හා සමානයි, ඇඟිල්ලට ගත් ජලය හා සමානයි කියල පෙන්වනවා.**

දැන් එහෙනම් සෝවාන් පුද්ගලයගෙ ලොකු වෙනසක් පේන්න එපැයි කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. නමුත් ඇයි එහෙම වෙනසක් පිටින් පේන්න නැත්තෙ? ගිහිව ඉන්න ඒ වගේ අය අඹු සැමියන් වශයෙන් ජීවත් වෙනවා, දරු මල්ලන් හදාගෙන, ඉඩකඩම් වවා හදාගෙන, රැකී රක්ෂා කරගෙන... මේ ආදී වශයෙන් සාමාන්‍ය ජනතාව අතරම ජීවත් වෙනවා. ඒවායේ කිසිම අඩුපාඩුවක් නෑ. නමුත් සෝතාපන්න ඵලයටත් පත්වෙලා. දැන් මේ වගේ අවස්ථාවකදි ලෝකයේ අන්‍ය පුද්ගලයෙක්ගෙ චරිත ලක්ෂණයයි, සෝතාපන්න පුද්ගලයෙක්ගෙ චරිත ලක්ෂණයයි දිහා සාමාන්‍ය කෙනෙක් පිටින් බැලුවොත්, දෙන්නගෙ වෙනසක් දකින්නවත් බැරි තරම් ස්වභාවයක් තමයි තියෙන්නෙ. උදාහරණ විදිහට විශාඛා උපාසිකාව 7 අවුරුද්දෙන් සෝවාන් වෙලා ඊට පසුව විවාහ වෙලා නිවුන් දරුවන් 20 ක් වදපු බවත්, (විශාඛා වස්තුව - ධම්ම පද අට්ඨ කතාව - පුප්ඵ වග්ගය) ඒ වගේම සෝවාන් වෙච්ච අනේපිඬු සිටුතුමා ව්‍යාපාරයක් වශයෙන් මුදල් පොලියට දුන්න බවත් සඳහන් වෙනවා. (පූජාවලිය 17 පරිච්ඡේදය - 337 පිටුව ජේතවනාරාම පූජාව).

එතකොට මේ සා විසාල කෙළෙස් ප්‍රමාණයක් අත්හැරුන නම්, ඉතිරි වෙලා තියෙන්නෙ අර තරම් පොඩ්ඩක් නම්, ඇයි පිටින් වෙනසක් පේන්න නැත්තෙ? මොකක්ද ඒකට හේතුව? මේ චතුරාර්ය සත්‍යය දර්ශනය කරපු කෙනාගෙ මූලික ලක්ෂණ පිළිබඳව යථාර්ථය අද වෙනකොට වැහිල තියෙන නිසා මේ පිළිබඳව සමාජයට වැරදි වැටහීමක් තමයි ඇතිවෙලා තියෙන්නෙ. නැත්නම් අද ඉන්න පින්වතුන් අතර එක්තරා අධෛර්යක් හට ගෙන තියෙනවා, මෙබඳු තත්ත්වයක් අපි කවද කොහොම නම් ලබන්නද කියල. අන්න ඒ අධෛර්ය නැති කරන්න තමයි මේ කාරණය විග්‍රහ කරල දෙන්නෙ.

එහෙනම් ලෝක සත්ත්වයාගේ අසීමිත බලාපොරොත්තු කියල කිව්වම දකින්න ඕන කාරණයක් තියෙනවා. **ලෝක සත්ත්වයා තමන්ට කොච්චර ලැබුනත් මදි කියන මානසිකත්වයක තමයි නිතරම ඉන්නෙ. ඒක තමයි සාමාන්‍ය ලෝකයාගේ හැටි. මොනව ලැබුනත් ඒ ගැන සෑහීමකට පත් වෙන්නෙ නෑ. අනේ මේක මෙහෙම වුනා නම් කියල හිත යටින් හරි හූල්ලනවා, පෙළෙනවා, සීමාවක් නෑ.** එක රත්තරන් කන්දක් මවල දුන්න නම්, අනේ අනික් කන්දත් රත්තරං වුනා නම් කොච්චර හොඳද, ඒකත් මට අයිති වුනා නම් කොච්චර හොඳද කියන මෙන්න මේ වගේ මානසිකත්වයක් තමයි තියෙන්නෙ.

අපේ දහම් පොත්වල එන එක්තරා කතාවක් තියෙනවා. මහා මන්දාතු කියන රජ කෙනෙකුට හතර මහා දිවයින්වල අධිපතිකම, එහෙම නැත්නම් සක්විති රජකම ලැබිල තියෙද්දි සක් දෙවිඳු එක්ක තව්තිසා දෙව්ලොවට ගියාලු. සක්විති රජ කියන්නෙ බොහොම හොඳ කෙනෙක් නිසා, දේව රාජ්‍යයෙන් බාගයක් දෙන්නම් මෙහේ රජ කරගෙන ඉන්න කියල සක්‍ර දෙවියො බොහොම චිත්ත ප්‍රසාදයෙන් දේව රාජ්‍යයේ කොටසක් බාර දුන්නට පස්සෙ, ඒකත් බාර අරගෙන ඉන්නකොට ශරීරය දේව ශරීරයකට පරිවර්තනය වුනයි කියනවා. එහෙම ඉඳගෙන හිතුවලු, මේ මුළු රාජ්‍යයම මට හම්බ වුනා නම් කියල. ඒ අවස්ථාවෙදිම තටු හැලිච්ච පක්ෂියෙක් ඇදගෙන වැටෙනව වගේ එතැනින් ඉවත් වෙලා ඇවිත් නැවතත් මේ මිනිස් ලෝකෙ පහල වුනා කියනවා.

දැන් මේ කතාවෙන් වැදගත් දෙයක් තේරුම් ගන්න පුළුවන්. චතුරාර්ය සත්‍යය පිළිබඳව දර්ශන ඥානය ලබා නොගත්ත සාමාන්‍ය පෘතජ්ජන කෙනෙක්ගෙ චරිත ලක්ෂණය ඔන්න ඔහොමයි. කොච්චර ලැබුනත් මදි කියන තැනක තමයි ඉන්නෙ. එහෙනම් **සක්විති රජ වුනත් ඒ පුද්ගලයගෙ බලාපොරොත්තු අප්‍රමාණයි, අසීමිතයි. නමුත් ආර්ය තත්ත්වයට පත් වුන කෙනාගෙ බලාපොරොත්තුව එක්තරා මට්ටමකින් සීමා වෙනවා. මට මෙච්චර ලැබුනම ඇති කියන මානසිකත්වයක් එනවා.** අන්න ඒක තමයි වෙනස් වෙච්ච තැන. අප්‍රමාණයක් අත්හැරිල සුළු මට්ටමකට ප්‍රමාණවත් කියන මානසිකත්වයක් ගොඩනැගිල තියෙනවා. සෝවාන් පුද්ගලයගෙ අත්හැරිච්ච කොටස මහ ගොඩයි, ඉතිරි වෙච්ච පොඩ්ඩ තමයි අර නිය පිටට ගත් පස් ටිකට, ඇඟිල්ලට ආපු වතුර බිංදු දෙක තුනට උපමා කළේ. ඒ කියන්නෙ **පෘතජ්ජනව ඉන්නකොට මහ මුහුද තරම් කෙළෙස් අනුශය වශයෙන් යටපත් වෙලා තියෙන නිසා පිටට පේන්නෙ නෑ. අවස්ථාවක් ආපු වෙලාවක තමයි පිටට පේන්න නැගිල එන්නෙ. ඒ නිසා තමයි සෝවාන් වෙච්ච කෙනෙක්ගෙ මහ මුහුදක් තරම්, මහ පොළොවෙ පස් තරම් කෙළෙස් ප්‍රමාණයක් අයින් වුනා කියල සාමාන්‍ය කෙනෙකුට වැටහෙන්නෙ නැත්තෙ.**

මෙන්න මේ වගේ සෝවාන් කෙනාට, ලද දෙයින් සෑහීමකට පත් වීමේ මානසික ස්වභාවයක් ඇතිවෙලා තියෙනවා. මට ජීවත් වෙන්න, මේ දේ කරන්න මෙන්න මේ පහසුකම තිබුනොත් හොඳටම ඇති, මට එයින් එහා මොකවත් ඕන නෑ කියන මේ අදහස එනවා. ඒ නිසා තමයි ඔය අදහස පිටින් බැලුවට පේන්නෙ

# නිවන් ලැබ දෙන කමටහන්...

**೦6 කොටස**



ලෝකයේ යථා ස්වභාවය දහමට අනුව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතනින් එහාට සසර ගමන කෙළවර කර ගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට සමාධියෙන් නැගුනු තවත් කමටහන් කිහිපයක් මෙවරත් සටහන් කරනවා. සමහර කර්මස්ථාන බැලු බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ ඒ ඒ පුද්ගලයන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කර්මස්ථාන වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

64. කායේන සංවරෝ සාධු
    සාධු වාචාය සංවරෝ
    මනසා සංවරෝ සාධු
    සාධු සබ්බත්ථ සංවරෝ
    (සාධු යනු නිවනයි)

65. සම්මා සම්බුදු සරණයි
    සසර අවිදු අඳුරකි
    මමද සියලු සත්ත්වයෝ
    අවිදු අඳුරෙන් මිදෙත්වා
    සසර අවිදු බැම්මකි
    මමද සියලු සත්ත්වයෝ
    අවිදු බැම්මෙන් මිදෙත්වා

66. සම්මා සම්බුදු සරණයි
    මමද සියලු සත්ත්වයෝ
    සියලු ලෝක බන්ධන වලින්
    මිදෙත්වා
    නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

67. සම්මා සම්බුදු සරණයි
    කෙළෙසෙන සියල්ල
    අත්හැරෙත්වා නොඇලෙත්වා
    මිදෙත්වා

68. සම්මා සම්බුදු සරණයි
    මමද සියලු සත්ත්වයෝ
    සසර දුකෙන් නිදහස් වෙත්වා
    නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

69. සම්මා සම්බුදු සරණයි
    මමද සියලු සත්ත්වයෝද
    සංසාර පාපයෙන් නිදහස්
    වෙත්වා

නැත්තෙ. මොකද ඒක අභ්‍යන්තරයේ තියෙන මානසික ස්වභාවයක්. එබඳු මානසික ස්වභාවයක් ඇති කෙරෙන ලක්ෂණයක් තමයි සෝතාපන්න පුද්ගලයාගේ යථාවබෝධය ලබපු චිත්ත ස්වභාවය. ඒ නිසා වැරදියට තේරුම් ගන්න එපා, සෝවාන් කෙනෙක් කියන්නෙ ගිහි ජීවිතයේ ඉඩකඩම් වවා හදාගෙන, රස්සාවල් කරගෙන ඉන්න කෙනෙක් නෙවෙයි... ආදී වශයෙන්. ඔහුට යමක් ලැබුනයි කියල මහා උද්දාමයකුත් නෑ. නොලැබුනයි කියල මහා වික්ෂිප්තභාවයකට පත් වෙලා බොහොම දැඩි තත්ත්වයකට මානසිකත්වය පත් වෙන්නෙත් නෑ. මේ චතුරාර්ය සත්‍යය හරියට අවබෝධ වුනා නම් සරල ජීවිතයක්, ශාන්ත ජීවිතයක් ගත කරන, බොහොම යහපත් ගුණ ධර්ම ඇති, පැහැපත් චිත්ත ස්වභාවයක් ඇති කෙනෙක් වෙනවා.

ඉතින් මේ කාලෙ සමහර අය නොයෙක් ආකාරයෙන් අහන්න පුළුවන්, චතුරාර්ය සත්‍යය අවබෝධ වෙච්ච අය දැන් ඉන්නවද, ඒක වෙන්න පුළුවන්ද... ආදී වශයෙන්. නමුත් ඒ ගැන සෙවීම නෙවෙයි අපිට අවශ්‍ය වෙන්නෙ. ඒ කියන චතුරාර්ය සත්‍යය තමන්ට අවබෝධ කරගන්න පුළුවන්ද බැරිද කියන එකයි විමසන්න ඕන. (ම. නි. 1 - චූල සාරෝපම සූත්‍රය - 479 පිටුව) කොහොමත් තව කෙනෙක්ගෙ හිතේ ඇතිවෙන අවබෝධය ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමකට හැර වෙන කෙනෙකුට කියන්න බෑ. එතකොට තමන්ට අවබෝධ කර ගන්න පුළුවන්ද කියල බලන එකේ වැදගත්කමක් තියෙනවා. හැබැයි ජාති කුල මල, ආගම්, වයස් භේද අරගෙන ඒ වැඩේට බහින්න බෑ. නමුත් අද එහෙම දෙයක් තමයි වෙලා තියෙන්නෙ. මේ බුදු දහමත් බුද්ධාගම කියල තවත් එක්තරා ආගමක් කරගෙන, බුදු රජාණන් වහන්සේත් එක්තරා ආගමික නායකයෙක් වශයෙන් හංවඩු ගහගෙන, ඒ වගේ අදහසක ඉන්න නිසා තමයි මේ තත්ත්වය ඇති වෙලා තියෙන්නෙ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



70. සම්මා සම්බුදු සරණයි
මමද සියලු සත්ත්වයෝ
තණ්හා පොදියෙන්
නිදහස් වෙත්වා ///

71. සම්මා සම්බුදු සරණයි
හටගත් සියල්ලෙන්
නිදහස් වෙත්වා
මමද සියලු සත්ත්වයෝ
හටගත් සියල්ලෙන්
නිදහස් වෙත්වා

72. සම්මා සම්බුදු සරණයි
සියල්ලෝ රාගයෙන් මිදෙත්වා
ද්වේශයෙන් මිදෙත්වා
මෝහයෙන් මිදෙත්වා

73. සම්මා සම්බුදු සරණයි
මමද සියලු සත්ත්වයෝ
උපාදානස්කන්ධයෙන් මිදෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

74. සම්මා සම්බුදු සරණයි
මමද සියලු සත්ත්වයෝ
සියලු පංචස්කන්ධ පිළිබඳ
ඡන්ද රාගයෝ අත්හරිත්වා
නොඇලෙත්වා මිදෙත්වා

75. සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
අවිද්‍යා පොදියෙන් නිදහස් වෙත්වා

76. සම්මා සම්බුදු සරණයි
සියලු සත්ත්වයෝ
සියලු පාපයෙන් නිදහස් වෙත්වා
සියලු සත්ත්වයෝ සෘද්ධිවිධ
වෙත්වා සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් නිබ්බාන වෙත්වා

77. සම්මා තිසරණ සරණයි
සියලු සත්ත්වයෝ
සියලු පාපයෙන් නිදහස් වෙත්වා
සියලු සත්ත්වයෝ නිවන් සුවයෙන්
සුවපත් වෙත්වා

78. සම්මා තිසරණ සරණයි
සියලු ලෝක සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

79. සම්මා තිසරණ සරණයි
මමද සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

80. සම්මා තිසරණ සරණයි
මමද සියලු සත්ත්වයෝද
ද්වේශයෙන් නිදහස් වෙත්වා

81. සම්මා තිසරණ සරණයි
මමද සියලු සත්ත්වයෝද
සංසාර ද්වේශයෙන්
නිදහස් වෙත්වා

82. සම්මා තිසරණ සරණයි
මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
රාගයෙන් ද්වේශයෙන් මෝහයෙන්
මානයෙන් මිදෙත්වා
නිවන් දකිත්වා

83. සැමට සංසාර මිසදිටුව හැරෙත්වා
නිබ්බාන සම්දිටුව ලැබෙත්වා

84. සැමට සංසාර මිසදිටුව
නොවෙත්වා
නිබ්බාන සම්දිටුව ලැබෙත්වා

85. මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
සංසාර මිසදිටුවෙන්
නිදහස් වෙත්වා
නිබ්බාන සම්දිටුවෙන්
සුවපත් වෙත්වා

86. රාග ද්වේශ මෝහ සංසිඳීම සුවයි

87. රාග ද්වේශ මෝහ සංසිඳීම නාථයි

88. මමද සියලු සත්ත්වයෝ
සියලු පාපයන්ගෙන්
නිදහස් වෙත්වා
මමද සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

89. මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
වීත රාගී වෙත්වා
වීත දෝසී වෙත්වා
වීත මෝහී වෙත්වා

90. සියලු සත්ත්වයෝ
සියලු පංචස්කන්ධ පිළිබඳ
ඡන්ද රාගයෝ අත්හරිත්වා
නොඇලෙත්වා
මිදෙත්වා

91. සියලු සත්ත්වයෝ
සියලු පංචස්කන්ධ පිළිබඳ
ඡන්ද රාග අත්හැරීම වෙත්වා
නොඇල්ම වෙත්වා
මිදීම වෙත්වා
නිවනම වෙත්වා

92. සියලු සත්ත්වයෝ
සියලු පංචස්කන්ධ පිළිබඳ
ඡන්ද රාගයෝ අත්හරිත්වා
නොඇලෙත්වා
මිදෙත්වා
සියලු සත්ත්වයෝ
සියලු පංචස්කන්ධ පිළිබඳ
ඡන්ද රාග අත්හැරෙත්වා
නොඇලෙත්වා
මිදෙත්වා
නිවනම වෙත්වා

93. ලෝකය නිස්සාරයි ///
ලෝකය කෙරෙහි ඡන්ද රාගය
අත්හැරෙත්වා නොඇලෙත්වා
මිදෙත්වා

94. මමද සියලු සත්ත්වයෝ
සියලු ලෝක කෙරෙහි
අවිජ්ජා තෘෂ්ණා නිරෝධ වෙත්වා

95. මමද සියලු සත්ත්වයෝ
සියලු අවිද්‍යා පොදියෙන්
නිදහස් වෙත්වා
මමද සියලු සත්ත්වයෝ
සියලු තණ්හා පොදියෙන්
නිදහස් වෙත්වා
මමද සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

96. මමද සියලු සත්ත්වයෝ
අවිද්‍යා පොදියෙන් මිදෙත්වා
තණ්හා පොදියෙන් මිදෙත්වා

97. මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
සතර අපා ඡන්ද රාගයෙන්
මිදෙත්වා
මනුස්ස ලෝක ඡන්ද රාගයෙන්
මිදෙත්වා
දේව ලෝක ඡන්ද රාගයෙන්
මිදෙත්වා
බ්‍රහ්ම ලෝක ඡන්ද රාගයෙන්
මිදෙත්වා
නිවන් දකිත්වා...///

98. මමද සියලු සත්ත්වයෝ
සියලු ලෝකයෙහි
නොඇලෙත්වා
නොගැටෙත්වා
නොබැඳෙත්වා

99. මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ
සියලු ලෝක තණ්හා
උපාදානස්කන්ධයෙන්
නිදහස් වෙත්වා

100.ලෝභ අසාරයි
සැවොම මිදෙත්වා
නිබ්බාන සාරයි
නිබ්බාන වෙත්වා

101.පංච කාමයෝ අසාරයි
නිරෝධ වෙත්වා
නිබ්බාන සාරයි
නිබ්බාන වෙත්වා

102.මටද හැම දෙනාටද
තුච්ඡ වූ නින්දිත වූ ලාමක වූ
පංච කාමයෝ ලෝභ ද්වේශ
මෝහයෝ සියලු මාර බන්ධනයෝ
නිරෝධ වෙත්වා

103.රාගක්ඛයෝ නිබ්බානං
මමද සියලු සත්ත්වයෝ
රාගක්ඛයෝ වෙත්වා
ද්වේශක්ඛයෝ නිබ්බානං
මමද සියලු සත්ත්වයෝ
ද්වේශක්ඛයෝ වෙත්වා
මෝහක්ඛයෝ නිබ්බානං
මමද සියලු සත්ත්වයෝ
මෝහක්ඛයෝ වෙත්වා

104.මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ කෙරෙහි
කාමාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා
රූපාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා
අරූපාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා

105.පෙණ පිඩුව අසාරයි
රූපය අසාරයි
දිය බුබුල අසාරයි
වේදනා අසාරයි
මිරිඟුව අසාරයි
සංඥා අසාරයි
කෙසෙල් කඳ අසාරයි
සංඛාර අසාරයි
මායාව අසාරයි
විඤ්ඤාණ අසාරයි

106.සියල්ලෝ සක්කාය දිට්ඨී
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ විචිකිච්ඡා
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ සීලබ්බත පරාමාස
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ කාම රාග
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ පටිඝ (ව්‍යාපාද)
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ රූප රාග
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ අරූප රාග
අවිජ්ජා බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ මාන අවිජ්ජා
බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ උද්දච්ච අවිජ්ජා
බන්ධනයෙන් මිදෙත්වා

සියල්ලෝ අවිජ්ජා අවිජ්ජා
බන්ධනයෙන් මිදෙත්වා

107. සැවොම සක්කාය දිට්ඨී
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම විචිකිච්ඡා
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම සීලබ්බත පරාමාස
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම කාම රාග
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම පටිඝ (ව්‍යාපාද)
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම රූප රාග
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම අරූප රාග
සංයෝජනයෙන් මිදෙත්වා
සැවොම මාන සංයෝජනයෙන්
මිදෙත්වා
සැවොම උද්දච්ච සංයෝජනයෙන්
මිදෙත්වා
සැවොම අවිජ්ජා සංයෝජනයෙන්
මිදෙත්වා

108.මටද හැම දෙනාටද
ඇස අසාරයි - රූපයෝ අසාරයි
උපාදානයෝ මිදෙත්වා

කන අසාරයි - ශබ්දයෝ අසාරයි
උපාදානයෝ මිදෙත්වා

නාසය අසාරයි - ගන්ධයෝ
අසාරයි - උපාදානයෝ මිදෙත්වා

දිව අසාරයි - රස අසාරයි
උපාදානයෝ මිදෙත්වා

කය අසාරයි - පොට්ඨබ්බයෝ
අසාරයි - උපාදානයෝ මිදෙත්වා

මන අසාරයි - ධර්මයෝ අසාරයි
උපාදානයෝ මිදෙත්වා

109.රූප උපාදානයෝ අසාරයි
වේදනා උපාදානයෝ අසාරයි
සංඥා උපාදානයෝ අසාරයි
සංඛාර උපාදානයෝ අසාරයි
විඤ්ඤාණ උපාදානයෝ අසාරයි

මමද සියලු සත්ත්වයෝ
රූප උපාදානයෙන් මිදෙත්වා
මමද සියලු සත්ත්වයෝ
වේදනා උපාදානයෙන් මිදෙත්වා
මමද සියලු සත්ත්වයෝ
සංඥා උපාදානයෙන් මිදෙත්වා
මමද සියලු සත්ත්වයෝ
සංඛාර උපාදානයෙන් මිදෙත්වා
මමද සියලු සත්ත්වයෝ
විඤ්ඤාණ උපාදානයෙන්
මිදෙත්වා

110. ඇසෙහි නොබැඳෙමි
රූපයෙහි නොබැඳෙමි
චක්ඛු විඤ්ඤාණයෙහි
නොබැඳෙමි
චක්ඛු සම්ඵස්සයෙහි
නොබැඳෙමි
චක්ඛු සම්ඵස්සජා වේදනාවෙහි
නොබැඳෙමි

(කන, නාසය, දිව, කය, මන ඉහත
ක්‍රමයටම යොදාගෙන පහත
කොටස කියා අවසන් කරන්න.)

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ අවිද්‍යා බන්ධනයෙන්
නිදහස් වෙත්වා

111. රූපයෙහි නොබැඳෙමි
වේදනාවෙහි නොබැඳෙමි
සංඥාවෙහි නොබැඳෙමි
සංඛාරයෙහි නොබැඳෙමි
විඤ්ඤාණයෙහි නොබැඳෙමි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ අවිද්‍යා බන්ධනයෙන්
නිදහස් වෙත්වා

112. ඇසෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
රූපයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
කනෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
ශබ්දයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
නාසයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
ගන්ධයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
දිවෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
රසයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
කයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
පොට්ඨබ්බයෙහි තණ්හා
උපාදානයෝ නොබැඳෙමි
මනෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
ධර්මයෙහි තණ්හා උපාදානයෝ
නොබැඳෙමි
සියලු සත්ත්වයෝ තණ්හා
උපාදානයෙන් නිදහස් වෙත්වා

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



**18 වන කොටස**

**මජ්ජිම නිකාය - 1**

සතිපට්ඨාන සූත්‍රය - 135 පිටුව

සතර සතිපට්ඨානය පිළිබඳ දීර්ඝ විස්තරයක් ඇත.

චූල සීහනාද සූත්‍රය - 155 පිටුව

සෝතාපන්න, සකදාගාමී ආදී සිව් පිරිසම මේ සාසනයේ මිස මින් බැහැර නැති බව පෙන්වා ඇත.

අරිය පර්යේෂණ සූත්‍රය - 395 පිටුව

ආර්ය පර්යේෂණය හා අනාර්ය පර්යේෂණය පිළිබඳ විස්තර ඇත. ජාති ධර්ම පිළිබඳව විශේෂ විග්‍රහයක් ඇත. පුත්‍ර ධාරාවෝ, දැසි දසුන්, එළු බැටළු, කුකුලන්, ඌරන්, ඇත්, ගව, අස්, වෙළඹුන්, රන්, රිදී... ආදී මේ පංච කාම ගුණ උපධීහු ජාති ධර්මයෝය.

මේවාම ජරා ධර්ම, ව්‍යාධි ධර්ම, මරණ, ශෝක, පරිදේව... ආදී ධර්ම වෙන අයුරුත්, මේවායේ ආදීනව දැක නිවන සෙවීම ආර්ය පර්යේෂණය බවත් පෙන්වා ඇත. මේවාට බැසගෙන මුසපත්ව ගෙතී ඒවා සෙවීම අනාර්ය පර්යේෂණයයි. මේ අනුව බෝසත් තාපසයන් වහන්සේ නිවන ලබන හෙවත් ලොව්තුරා බුදු වන තුරු කළ පර්යේෂණ මාලාව මෙහි ඇත.

චූල හත්ථිපදෝපම සූත්‍රය - 427 පිටුව

ජානුස්සෝනි බමුණා වච්චායන බමුණාගෙන් බුදු රජුන් ගැන අසා, ඇත් පිය සටහන් උපමාවක් කියා ගුණ ප්‍රකාශ කළ අතර, ඒ උපමාව සම්පූර්ණ කර බුදු පියාණන් වහන්සේ ජානුස්සෝනි බමුණාට කළ දේශනය මෙහි ඇත. ගිහියෙකු පැවිදි වී සික්ෂාව සම්පූර්ණ කර නීවරණ දුරු කර දැහැන් වඩා ත්‍රිවිද්‍යාව සහිතව අරිහත්වයට පත් වීම තුලින් ඇත් පිය උපමාව සම්පූර්ණ වන බව පවසයි.

චූල ගෝසිංග සූත්‍රය - 495 පිටුව

ගෝසිංග වනයෙහි වසන අනුරුද්ධ, නන්දිය, කිම්බිල යන තෙරුන් වහන්සේලා සමග බුදුන් වහන්සේ කළ සාකච්ඡාවක් මෙහි අඩංගුය. තෙරුන් වහන්සේලා තිදෙනා ඒ වනයෙහි එකිනෙකාට උදව් කර ගනිමින් වැඩ වසන අයුරුත්, නිරෝධ සමාපත්තිය දක්වා සම වදින අයුරුත්, ආශ්‍රව ක්ෂය කළ අයුරුත්, එය උපරිම සැප බවත් පෙන්වා ඇත. උන්වහන්සේලා ඒ වනයෙහි වැඩ සිටීම වජ්ජීන්ට මහත් ලාභයක් වූ බවත් පෙන්වා ඇත.

මහා සච්චක සූත්‍රය - 561 පිටුව

බුදු පියාණන් වහන්සේ සච්චකට කාය භාවනා සහ චිත්ත භාවනා වඩන අයුරුද, උන්වහන්සේ වැඩූ ආකාරයද පිළිබඳව කළ විග්‍රහය ඇත.

චූල තණ්හා සංඛය සූත්‍රය - 593 පිටුව

සක්‍ර දෙවියන් බුදු රජුන්ගෙන් රහතන් වහන්සේගේ පූර්ව භාග ප්‍රතිපදාව ගැන ඇසූ විස්තරය හා බුදු දෙසුම මෙහි ඇත. සක්‍ර දෙවියන් ගිය පසු මුගලන් මහ රහතන් වහන්සේ තව්තිසාවට වැඩ විජයොත් පහය කළඹා සක්‍රයාගේ ඇලුම් බිඳ ධර්මය ඇසූ පරිදි වැටහෙන්නට මං පාදපු අයුරු විස්තර වේ.

මහා තණ්හා සංඛය සූත්‍රය - 603 පිටුව

සාතී නම් භික්ෂුවගේ යන එන, කතා කරන, කන බොන... ආදී කටයුතුද සහිතව අත්බැවෙන් අත්බැවට නොනැසී යන විඤ්ඤාණයක් ඇතැයි ගත් මිසදිටුව බිඳ හැර, විඤ්ඤාණය හේතු ඵල දහමක් බවත් පෙන්වා පංචස්කන්ධය හේතු ඵලයක් බවත්, සතර ආහාර තණ්හා නිදාන, තණ්හා සමුදය, තණ්හා ජාති, තණ්හා ප්‍රභව කොට ඇතැයි පටිච්ච සමුප්පන්නව විසඳූ දේශනාව ඇත.

මහා අස්සපුර සූත්‍රය - 633 පිටුව

බුදු පියාණන් වහන්සේ අස්සපුර නම් නියම් ගම්හිදී භික්ෂුව ශ්‍රමණාර්ථය ලබන අයුරු මුල් කර කළ දේශනාවක් ඇත. පංච නීවරණ දුරු කර සමථ විදර්ශනා පූර්ණ කර ධ්‍යාන වඩා ත්‍රිවිද්‍යාව තුලින් අරිහත්වය ලැබූ කෙනා ශ්‍රමණ, බ්‍රාහ්මණ... අරහං වන බවත් පෙන්වා ඇත.

චූල අස්සපුර සූත්‍රය - 653 පිටුව

ශ්‍රමණ අනුලෝම පිළිවෙත විග්‍රහ කරයි.

සාලෙය්‍යක සූත්‍රය - 663 පිටුව

ශාලාගම වැසියන් නිරය හා දෙව් ලොවට මග ඇසූ පැනවලට දුන් පිළිතුරු ඇත. ධර්ම චරියා සම චරියා (දස අකුසලයෙන් වෙන් වීම) යහපතටත්, අධර්ම චරියා විසම චරියා (දස අකුසලය කිරීම) අයහපතටත් හේතු වන අයුරු දැක්වෙන දේශනාව ඇත. කාම මිත්‍යාචාරයට හේතු වන දස භාර්යා සේවනය සහ සිදු නොවූ දෑ කීම ප්‍රලාපය බවත් පෙන්වා ඇත.

වේරංජක සූත්‍රය - 673 පිටුව

බුදුන් වහන්සේ වේරංජා ගමෙහි බමුණු පිරිසට, කෙනෙක් අපාගත වන්නත්, කෙනෙක් දෙව්ලොව උපදින්නත් හේතු විමසූ විට, ධර්ම චරියා - සම චරියා හා අධර්ම චරියා - විසම චරියා දේශනා කළ අයුරු පෙන්වා ඇත.

මහා වේදල්ල සූත්‍රය - 685 පිටුව

මහා කොට්ඨිත තෙරුන් වහන්සේ සැරියුත් මහ රහතන් වහන්සේගෙන් ඇසූ ප්‍රශ්නවලට දුන් පිළිතුරු විග්‍රහය ඇත. දුස්ප්‍රාඥයන් චතුරාර්ය සත්‍යය දැකගන්න හැකියාවක් නැති අය බව පෙන්වා ඇත. මෙසේ ප්‍රඥාව, පජානාති, විඤ්ඤාණය, විජානාති... මේ වචනාර්ථ විග්‍රහ කර ඇත. විඤ්ඤාණය පිරිසිඳ



# මෙලොව පරලොව නිවන යන තුන් අභිවෘද්ධියටම මං පාදන නිවැරදි බෝධි පූජාවකට උපදෙස්... 01 කොටස

බෝධි පූජාවක් කිව්වම අද ලෝක සම්මතයේ ඉන්න බෞද්ධයො හැමෝම වගේ දන්න එක්තරා ක්‍රමවේදයක් තියෙනවා. පන්සලේ තියෙන බෝධීන් වහන්සේට මල්, පහන් සුවඳ දුම්... ආදිය පූජා කරල වතුර කල ගෙඩි 7 කින් බෝධි මූලය නාවල, බෝධිය වඳින ගාථා ටිකත් කියල අන්තිමට භික්ෂූන් වහන්සේ නමකට කියල අනුමෝදනාවක් කර ගැනීම තමයි අද බොහෝ කොටම සම්මත ලෝකයේ බෝධි පූජාවක් කියල අදහස් කරන්නෙ. ඒ විදිහට තමන්ගෙ ජීවිත කාලයේ එක වතාවක් හෝ බෝධි පූජාවක් පවත්වපු නැති සම්මත බෞද්ධයෙක් හොයාගන්නත් නැති තරම්. හැමෝම වගේ තමන්ට මොනව හරි ලෙඩක් දුකක් කරදරයක් වුනාම, එහෙම නැත්නම් ග්‍රහ අපල දුරු කරගන්න හෝ තමන්ගෙ වෙනත් කාරණයක් ඉෂ්ට සිද්ධ කරගන්න කියල මේ ආකාරයට බෝධි පූජා සිද්ධ කිරීම සාමාන්‍ය සිරිතක්.

දැන් මේ ඒ ක්‍රමවේදය විවේචනය කරනව නෙවෙයි.

---

දැකිය යුතුයි. ප්‍රඥාව වැඩිය යුතුයි. වේදනා, සංඥා, විඤ්ඤාණ, සංසට්ඨ (එක්ව පවතින) දහම් බවත්, වෙන් වෙන් කරම පෙන්විය නොහැකි බවත් පෙන්වා ඇත. **නිරෝධ සමාපත්තියේත් මරණයේත් වෙනස පෙන්වා ඇත. එනම් නිරෝධ සමාපත්තියේදී ආයුස, ශරීර උෂ්ණත්වය, ඉන්ද්‍රිය ප්‍රබෝධය ඇත. ඉන්ද්‍රියන් නොමැරී පවතී. මරණයේදී ආයුස හා ශරීර උෂ්ණත්වය නැත, ඉන්ද්‍රියන් බිඳී ඇත, ඉන්ද්‍රියන් නරක් වෙන ස්වභාවයෙන් යුක්තයි.**

### චූල වේදල්ල සූත්‍රය - 703 පිටුව

විශාක උවසු සහ ධම්මදින්නා තෙරණිය අතර වූ සාකච්ඡාවක් ඇත. කාය, වාග්, මනෝ සංඛාර පිළිබඳවත්, පංචස්කන්ධ හා පංච උපාදානස්කන්ධ පිළිබඳවත්, සත්කාය දිට්ඨිය ගැනත් විග්‍රහ වේ.

### චූල ධම්ම සමාදාන සූත්‍රය - 719 පිටුව

ධර්ම සමාදාන 4 ක් විග්‍රහ කර ඇත. දැන් සුව දෙන මතු දුක් දෙන, දැන් දුක් දෙන මතු සුව දෙන, දැන් දුක් දෙන මතු දුක් දෙන, දැන් සුව දෙන මතු සුව දෙන... ආදී වශයෙනි.

### මහා ධම්ම සමාදාන සූත්‍රය - 729 පිටුව

සත්ත්වයා ඉෂ්ට, කාන්ත, මනාප ධර්මයෝ ප්‍රිය කළත් අනිෂ්ට, අකාන්ත, අමනාප ධර්ම වැඩෙත් නම් ඊට හේතු ප්‍රත්‍ය විග්‍රහ කර ඇත. එනම් ඉහත කාරණා හතර වේ. ඒ අනුව දැන් සුව දෙන මතු දුක් දෙන සහ දැන් දුක් දෙන මතු දුක් දෙන ඒවා හැරිය යුතුයි. දැන් දුක් දෙන මතු සුව දෙන සහ දැන් සුව දෙන මතු සුව දෙන ඒවා නොහැරිය යුතුයි.

### වීමංසක සූත්‍රය - 745 පිටුව

මෙරමාගේ (අනුන්ගේ) චිත්ත පරියාය නොදන්නා භික්ෂුව බුදු පියාණන් වහන්සේ කෙරෙහි පර්යේෂණ කළ යුතු අයුරු (බුදු හා නොබුදු අය සොයන ක්‍රමයකි) විග්‍රහ කර ඇත.

### කෝසම්බිය සූත්‍රය - 753 පිටුව

බුදුන් වහන්සේ කලහකාරී භික්ෂූන්ගේ හිතුවක්කාර වාදභේද සහ අවිවාදයට හේතුවන කරුණු 6 ක් සහ පෘතජ්ජනයාට නැති සෝතාපන්න අයටම ඇති කරුණු 7 ක් විස්තර කර ඇත.

### බ්‍රහ්ම නිමන්තනික සූත්‍රය - 765 පිටුව

බක බ්‍රහ්මයාගේ වැරදි දෘෂ්ටිය බිඳ සියල්ල අනිච්ච, අද්ධුව (අස්ථිර), අසස්සත (සත්ත්වයා සදාකාලික නොවේ, සාස්වත නොවේ) වශයෙන් පෙන්වූ දේශනාව ඇත.

### මාර තජ්ජනීය සූත්‍රය - 777 පිටුව

මුගලන් හිමි සක්මන් කරන විට බඩට ඇතුල් වූ වසවත් මාරයා දැක කරුණු පෙන්වූ විට, එළියට පැමිණි වසවත් මරුට මුගලන් හිමිද කකුසඳ බුදුන්ගේ කාලයේ දූසී නම් මාර දෙව්පුත්ව සිට සසුනට කළ කරදර නිසා අපාගත වූ හැටිත්, එබඳු පව් වසවත් මරු විසින්ද කරගෙන දුක් නොවිඳුවයි අවවාද කළ හැටිත් පෙන්වා ඇත. (නැගී එන සසුනට, නිවන් දකින්න බණ දෙසන හිමිවරුන්ට හිරිහැර කරදර බාධා කරන අයද මෙය දැන ගැනීම වටී.)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

මොකුත් නොකර ඉන්නෙ නැතිව, මොනවහරි විස්වාසයකින් ඒ විදිහට හරි බෝධි පූජාවක් පැවැත්වීම අගය කළ යුතුයි. මොකද සමස්ථ ලෝකයා කරන පුහු අර්ථ ශුන්‍ය වැඩ දිහා බැලුවම එහෙම හරි පින් සිතක් මතු කර ගැනීම මතු කවදහරි නිවන් දකින්න උපනිශ්‍රය සම්පත් ලබන්න හේතු වාසනා වෙනවා. පෙළ දහමේ අපදාන පාළියේ එන කතාවලින් ඒ බව සනාථ වෙනවා. නමුත් බෞද්ධයෝ විදිහට මේ කරන කියන ඒවා කිසිවක් අන්ධ භක්තියෙන් නොකළ යුතුයි. හේතු ඵල දැනගෙන ඥාන සම්ප්‍රයුක්තව කටයුතු කරන කෙනෙක් තමයි නියම බෞද්ධයා කියන්නෙ. එහෙම නැතිව කරන්නන් වාලේ කළොත් අන්‍ය ලෝකයා අහන ප්‍රශ්නවලට උත්තර නැතිව යනවා. ඒ අය සමච්චල් කරන්න පුළුවන් ඕවා මෝඩ වැඩ කියල. ඒ වගේම ඒවායෙන් ප්‍රතිඵල ලැබෙන ආකාරය පහදන්න බැරිව ගියොත් සමහර භෞතිකවාදීන් ඒවට ගරහන්න සමච්චල් කරන්න පුළුවන්.

ඒ නිසා බෞද්ධයො විදිහට ඥාන සම්ප්‍රයුක්තව, සසර කර්මවේග ගෙවා හරිමින් සියලු දුක් දෝසාන්ධකාරයන් නසන, ලෞකික / ලෝකෝත්තර අභිවෘද්ධිය සැලසෙන විදිහට බෝධි පූජාවක් කරන හැටි දැන ගැනීම විශේෂයෙන් මේ කාලයේ හැමෝටම වැදගත්.

ඉස්සෙල්ලම දැනගන්න ඕන බෝධි පූජාවක් කියන්නෙ මොකක්ද කියල. ඒ සඳහා වචනයේ පදාර්ථය, නිරුක්තිය දැනගන්න ඕන. මේ හැම වචනයකම ගැබ් වෙච්ච පද අර්ථයක් තියෙනවා. ඒක තමයි නිරුක්තියෙන් කියන්නෙ. බෝ + ඇදි – බෝධි කියන්නෙ බුද්ධත්වය කරා ඇදී සිටීම. බුද්ධ කිව්වම ලොව්තුරා බුද්ධ, පච්චේක බුද්ධ (පසේ බුදු), ශ්‍රාවක බුද්ධ කියල කොටස් 3 ක් ඉන්නවා. ඒකෙන් ලොව්තුරා බුද්ධත්වය විශේෂයි. මොකද පසේ බුදුවරුන්ට හැර අනෙක් සියලු ලෝක සත්ත්වයන්ටම බුද්ධත්වය හෙවත් නිවන කරා යන්න මග පෙන්වන්නෙ ඒ අසීමිත පාරමිතා බලයෙන් මතු කරගත්ත බුද්ධත්වයෙන්. එහෙනම් ඒ ලොව්තුරා බුද්ධත්වය නිකං ලබා ගන්න බෑ. ඒ සඳහා මනෝ ප්‍රනිධාන, වාග් ප්‍රනිධාන, කාය ප්‍රනිධාන කියන සමතිංසත් පාරමී ධර්ම සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය, සොළොසාසංඛ්‍ය... ආදී වශයෙන් කල්ප ලක්‍ෂ ගණන් පූර්ණ කරන්න ඕන.

ඔන්න ඔය විදිහට ලොව්තුරා බුද්ධත්වයට පාරමිතා පුරල, ඒ පාරමිතා සම්පූර්ණ කරන පශ්චිම අත් බවයේ මහ බෝසතාණන් වහන්සේ ඉපදෙනකොටම බුද්ධත්වයට උපනිශ්‍රය වන්නා වූ තවත් වස්තු 7 ක් සහජාත ප්‍රත්‍යයෙන් ජනිත වෙනවා. එයින් එක සහජාත වස්තුවක් තමයි ජය ශ්‍රී මහා බෝධි රාජයාණන් වහන්සේ. ලොව්තුරා බුද්ධත්වයට පත්වෙන බෝසතාණන් වහන්සේ අනුව ඒ බෝධීන් වහන්සේගේ බෝධි ශාකය සල් බෝධිය, ඇසතු බෝධිය, නා බෝධිය, පලොල් බෝධිය... ආදී වශයෙන් වෙනස් වෙන්න පුළුවන්. නමුත් ඒ හැම බෝධීන් වහන්සේ නමකගේම ගැබ් වෙන්නෙ අප්‍රමාණ පාරමිතා බලයට අනුරූපව බල ගැන්විච්ච සුද්ධ ශක්තියක්. එතකොට **ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් බුදු වෙන්න පිට දෙන බෝධිය පැන නගින්නෙ බෝසතාණන් වහන්සේ බුදු වෙන්න පශ්චිම අත්බවයේ උපදින දවසෙ ඒ වෙලාවෙමයි. ඒක තවත් ප්‍රත්‍ය ගණනාවක් උපනිශ්‍රය වෙලා ස්වයංජාතව පහල වෙන දෙයක්. ඒ වගේම ඒක ධර්මතාවයක්. ඒ නිසා ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ කියන්නෙ අනෙක් ශාක වගේ අතු කැබැල්ලකින් හරි, සතෙක් කාපු ඇටයකින් හරි, නිකං හුළඟට ඇවිත් හරි පැළ වෙන දෙයක් නෙවෙයි. අසීමිත පාරමිතා බලයෙන් බල ගැන්විලා ස්වයංජාතව පහල වෙන අද්විතීය වස්තුවක්.**

මධ්‍ය දේශයේ මධ්‍ය ලක්‍ෂ්‍යයේ අප්‍රමාණ පාරමිතා බලයෙන් පැන නගින ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ මුලින්ම කිරණමය වශයෙන් තමයි හටගන්නෙ. බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පත් වෙන පශ්චිම අත් බවයේ උපතත් එක්කම පැන නැගුනට පස්සෙ ඒ බෝධීන් වහන්සේ තවදුරටත් වැඩෙන්නෙ නෑ. තල් ගහක වට ප්‍රමාණයට වඩා මහත් වෙන්නෙත් නෑ.

ඊළඟට පූජාව කියන්නෙ පූ කියන ආහාරය ජ ජනිත කරනවා කියන එක. එහෙමත් නැත්නම් බුද්ධත්වය කරා ඇදී සිටීමට අවශ්‍ය කරන ආහාරය ජනිත කිරීම තමයි බෝධි පූජාව කියන එකේ කෙටි අර්ථය. දැන් එහෙනම් හරියට බෝධි පූජාවක් කළොත් ඔය කියන ලෙඩ දුක්, කරදර, ග්‍රහ අපල උපද්‍රව දෝසාන්ධකාර නසල අවසානයේ බුද්ධත්වයට හෙවත් නිවනට මං සැලසෙන්න ඕන. එහෙම ක්‍රමවේදයක් තමයි නියම බෝධි පූජාව කියන්නෙ.

අද නිකං මතු පිටින් පෙනෙන ලෞකික අර්ථයෙන් කළත්, හරියට කරන බෝධි පූජාවක් කියන්නෙ ඒ වගේ ප්‍රතිඵල උදා කර දෙන අර්ථවත් කටයුත්තක්.

එතකොට ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගෙන් විහිදෙන ඒ අසීමිත සුද්ධ ශක්තිය කිරණමය වශයෙන් අනෙකුත් වෙහෙර විහාරස්ථානවල තියෙන බෝධීන් වහන්සේලාත් සමග සම්බන්ධ වෙන ක්‍රමවේදයක් තියෙනවා. තවත් විදිහකින් කියනව නම්, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ බෝපත්වලින් විහිදෙන ශක්තිය අනෙකුත් බෝධි ශාඛාවන් වෙත ඇද ගන්නා එක්තරා ක්‍රමවේදයක් තියෙනවා. මොකද සාමාන්‍යයෙන් වෙහෙර විහාරස්ථානවල තියෙන හැම බෝධීන් වහන්සේ නමක්ම ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගෙන් පැවතෙන්නෙ. ඒ කියන්නෙ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ අෂ්ට ඵල, දෙතිස් ඵල... ආදී බෝධිවලින් පැන නගින ශාඛාවන්ගෙන්, එහෙම නැත්නම් ඒ ශාඛාවලිනුත් නැවත පැන නගින ශාඛාවලින් තමයි ඒවා හටගෙන තියෙන්නෙ. ඒ විදිහෙ සම්බන්ධයක් තියෙන බෝධි ශාඛාවක් තමයි විහාරස්ථානයක රෝපණය කරන්නෙ. එහෙම නැතිව අහම්බෙන් වැටිච්ච ඇටයකින් හෝ අත්තකින් හෝ පැන නගින ඒවා නෙවෙයි. හැබැයි ඒ ශක්තියත් අෂ්ට ඵල බෝධි, දෙතිස් ඵල බෝධි, සාමාන්‍ය බෝධි... ආදී වශයෙන් බෝධීන් වහන්සේ පැන නැගිච්ච ක්‍රමවේදය අනුවත් වෙනස් වෙනවා. සාපේක්‍ෂව ගත්තම අෂ්ට ඵල, දෙතිස් ඵල බෝධිවලට ඇදගන්න ශක්තිය වැඩියි.

**බෝධීන් වහන්සේ නමක් ගත්තම ඒ ස්ථානයේ වෙනත් තැන්වලට වඩා සැහැල්ලුයි. මොකද මනුස්සයින්ගෙ ශරීරය වටා තියෙන රාග, ද්වේශ, මෝහවලින් පැන නැගිච්ච කළු කිරණ බෝපත්වල තුඩු හරහා ඇදල අරගෙන පොළවට දානවා. ඒ වගේම බෝධීන් වහන්සේගේ සුද්ධ ශක්තියත් මූල පද්ධතිය හරහා ඇවිත් බෝපත්වල තුඩු හරහා මනුස්සයාට ඇදල දෙනවා. ඒ කියන්නෙ අසුද්ධ ශක්තිය කපා හැරල සුද්ධ ශක්තිය පිට කරනවා. ඒ නිසා තමයි බෝධීන් වහන්සේ නමක් ළඟ ඉන්නකොටත් ශරීරයට සැහැල්ලුවක් දැනෙන්නෙ.**

බෝපතක තුඩ හරහා දෙන්නෙ හැම තිස්සෙම සුද්ධ

ශක්තිය. බෝධින් වහන්සේ නමක් ළඟ රැඳෙනකොට මොනම ගාථාවක්වත් නොකිව්වත්, මොන විදිහට හිටියත්, ඒ පුද්ගලයට ස්වභාවිකවම එක්තරා ශක්තියක් බෝධින් වහන්සේගෙන් ලැබෙනවා. අර පාරමිතා බලයෙන් හට ගත්ත ශක්ති කදම්භයෙන් තමයි ඒ දේ සිද්ධ වෙන්නෙ. ඒ තරම් මහා වටිනා ශක්තියක් බෝධින් වහන්සේ නමක් ළඟ තියෙනවා. හැබැයි ගති ආකර්ශන නියමය අනුව මනුස්සයාගේ හිතේ පිරිසිදු බව වැඩිවෙනකොට තමයි ඒ සුද්ධ ශක්තිය වඩාත් හොඳින් ඇදල එන්නෙ. සාමාන්‍යයෙන් බෝපත්වල තැනින් තැන කළු පාට ළප හට ගන්නත් මනුස්සයාගේ තියෙන ඒ විස කළු කිරණ ඇද ගැනීම හේතුවක් වෙනවා. නමුත් ජය ශ්‍රී මහා බෝධින් වහන්සේගේ සුද්ධ ශක්තිය අප්‍රමාණ නිසා ජය ශ්‍රී මහා බෝපත්වල ඒ වගේ කළු ළප දකින්න නෑ. ඒවා ක්ෂණයකින්ම දවා හරිනවා.

මේ විදිහට බෝධින් වහන්සේ හරහා ඒ බෝධි පූජා පවත්වන, ඊට සහභාගි වන පින්වතුන්ටත් ඒ ශක්තිය විහිදිලා පැතිරිලා යන ක්‍රමවේදයක් තියෙනවා. අන්න ඒ වගේ ක්‍රමවේදයක් තමයි මේ බෝධි පූජාවකදි සිද්ධ වෙන්නෙ.

හැබැයි මේ බෝධි පූජාව මෙහෙය වන උත්තමයන් වහන්සේගේ, එහෙම නැත්නම් භික්ෂූන් වහන්සේගේ ගුණය සහ ශක්තියත් ඒකෙන් ලැබෙන ප්‍රතිඵලයට බලපානවා. ඒ කියන්නෙ ගුණ මහත්වයෙන් වැඩි උත්තමයෙක් විසින් සිද්ධ කරන බෝධි පූජාවකින් ලැබෙන ප්‍රතිඵලත් වැඩියි. උදාහරණයක් විදිහට වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් අතිදුර්ලභ පටිභාන කවිත්වය උපයෝගී කර ගනිමින් බෝධි පූජා පවත්වපු ක්‍රමවේදයක් තිබුනා. ඒ සඳහා අවශ්‍ය කරන පැන්, සුවඳ දුම්, දැහැත්, පිරිකර... ආදී භෞතික පූජා ද්‍රව්‍ය පිළිවෙලකට තැන්පත් කරල, ශ්‍රී මුඛ බුද්ධ දේශනාව අනුව යමින් දාන කතා, සීල කතා, සග්ග කතා, ආදීනව කතා, නෙක්ඛම්ම කතා... ආදී වශයෙන් එන දාන කතාවෙන් පටන් අරගෙන, අවසානයේ නිවනට හේතු වන කතාවකින් තමයි ඒ දේශනාව පැය ගණනාවක් තිස්සේ ගිහින් අවසන් කරන්නෙ. එතකොට ඒ සඳහා සහභාගි වන පෙනෙන නොපෙනෙන ලෝකවල දිව්‍ය, බ්‍රහ්ම, මනුස්ස... ආදීන් මේ දානයේ, සීලයේ, ත්‍යාගයේ, සුගතියේ තියෙන වටිනාකමත්, ඒ සඳහා කරනු ලබන වත්පිළිවෙත් ගැනත් දැනුවත් වෙලා අවසානයේ නිවනට හේතු වෙන දහමත් ශ්‍රවණය කරල, ඒ බෝධි පූජාවෙන් නැගිච්ච අප්‍රමාණ ශක්තියෙන්, අනන්ත සසරේ තම තමන් අතින් සිද්ධ වෙච්ච පාපාන්ධකාරයන්ට දෝසාන්ධකාරයන්ට වන්දි ගෙවල, සතර වරිගයේ ඥාති හිතමිත්‍රාදීන් ඇතුළු අප්‍රමාණ ලෝකවාසීන්ටත් විහිදවල පතුරවල නිවනට තියෙන බාධා අවහිර මගහැර ගන්නවා. ඒ වගේම ලෞකික වශයෙන් තමන්ට තියෙන ලෙඩ දුක් කරදර බාධා ආදිය මග හැරගෙන සහනය සලසා ගන්නවා. ඔන්න ඔය විදිහට කරන බෝධි පූජාවක් සියලු ආකාරයෙන් පරිපූර්ණයි.

ඒ වගේම පානදුරේ අරියධම්ම හාමුදුරුවො කියන්නෙත්, යට ගිහින් තිබුන බෝධි පූජාව නැවත මතු කරගෙන, අෂ්ට මධුර ස්වරයේ මාත්‍රයක් හරි උපයෝගී කරගෙන, පැය ගණනාවක් තිස්සේ ලෞකික ලෝකෝත්තර අභිවෘද්ධියට හේතු වෙන විදිහට විසාල පිරිසකට පොදුවේ බෝධි පූජා පවත්වපු උත්තමයෙක්. ඒක ඉතින් ඒ ඒ උත්තමයන් වහන්සේලා සසරෙ පුරාගෙන ආපු පාරමිතා ශක්තියත් එක්ක සම්බන්ධ දෙයක්. නමුත් තම තම නැණ පමණින් දත යුතු නිසා, තම තමන්ට පුළුවන් ශක්ති ප්‍රමාණයෙන් මේ බෝධි පූජාව හැමෝටම කරන්න පුළුවන්.

එතකොට මේ වෙනකොට සැඟවිලා ගිය ක්‍රමවේදත් එක්ක යම් කිසි ආකාරයකට සාර්ථකව පොදුවේ සියලු දෙනාටම හෝ පුද්ගලිකව හෝ බෝධි පූජාවක් පවත්වන එක්තරා නිවැරදි එක ක්‍රමවේද කිහිපයක් විතරයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. මේ හැර විවිධ උත්තමයන් වහන්සේලා විසින් බෝධි පූජා සිද්ධ කරන තවත් ක්‍රමවේද තියෙන්න පුළුවන්. කොහොම හරි මේ ක්‍රමවේද අනුගමනය කිරීම තුළින් මේ වෙනකොටත් සෑහෙන පින්වතුන් පිරිසක් හොඳ ප්‍රතිඵල ලබල තියෙන බව නම් කියන්න පුළුවන්. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරල දුන්න ඒ ක්‍රමවේදත් ඇසුරු කරගෙන, ඒවායින් ප්‍රතිඵල ලබා ගත්ත පින්වතුන් ඒ ඔස්සේ අනුගමනය කරපු විවිධ ක්‍රමවේදත් ඇසුරින් තමයි මේ ලිපිය සකස් කෙරෙන්නෙ. ඒ හැම ක්‍රමවේදයකම තියෙන පොදු අංග ලක්ෂණ මේ ලිපිය තුළින් ඉදිරිපත් කරනවා. ඒ නිසා මේ තියෙන වාක්‍ය කාණ්ඩ ඒ කියල තියෙන විදිහටම කියන්න කරන්න අවශ්‍ය නෑ. ඒ අදහස එන විදිහට ගලප ගන්න පුළුවන්. ඒ වගේම පූජා භාණ්ඩ වුනත් තමන් කැමති විදිහට යොදා ගන්න පුළුවන්. ඒ නිසා තම තමන්ගේ කාරණාවන්ට ගැලපෙන විදිහට ඒ ඒ පූජා භාණ්ඩ සහ වාක්‍ය කාණ්ඩයන් අවශ්‍ය විදිහට වෙනස් කරගන්නත් පුළුවන්.

ඒ වගේම තමයි මේ බෝධි පූජාවක් සිද්ධ කරන්න සුදුසුම දවස් සහ කාල හෝරාවන් තියෙනවා. ඒ සඳහා **පුර පක්ෂයේ දවසක් ගන්න පුළුවන් නම් වඩා හොඳයි. මොකද විශ්වයේ සුද්ධ ශක්තිය උපරිමයෙන් සකස් වෙලා තියෙන්නෙ පුර පක්ෂයේ දවස්වල. ඒ වගේම ඒ දවස්වලට බ්‍රහ්ම දේවතාවන්ගෙ ඇල්ම බැල්මත් වැඩියි** (මේ සම්බන්ධයෙන් විස්තරයක් 55 කලාපයේ පළ වූ "හිස මුල් කරගත් රෝගවලට හා නුවණ වැඩීමට පහන් පූජා ප්‍රතිකර්මයක්" නම් ලිපිය යටතේ පළ කරල තියෙනවා). ඒ වගේම සාමාන්‍යයෙන් පින්වතුන් තමන් පහසු වෙලාව විදිහට තෝරා ගන්නෙ, එදිනෙදා දවසෙ වැඩපල කරල හැන්දෑ වරුව තමයි. එතකොට පන්සට ගිහින් මල්, පහන්... ආදිය පූජා කරල හවස 6.00 - 9.00 අතර කාලය තමයි බොහෝ පින්වතුන් ඒ සඳහා යොදා ගන්නෙ. තම තමන්ටත්, ඒ බෝධි පූජාව මෙහෙය වන භික්ෂූන් වහන්සේටත් පහසු වෙලාවක් නිසයි බොහෝ කොටම ඒ වෙලාව යොදා ගන්නෙ. නමුත් පින්වතුන්ගේ දැන ගැනීම පිණිස **විශ්වයේ ක්‍රියාකාරීත්වය අනුව වඩාත් බලවත්ම හා සුදුසුම වෙලාව සඳහන් කරනව නම් ඒ තමයි අළුයම 3 - 5 අතර කාලය.** ඒ වෙලාවෙ තමයි විශ්වයේ සුද්ධ ශක්තිය හොඳින් ක්‍රියාත්මක වෙන වෙලාව. දිව්‍ය බ්‍රහ්මාදීන්ගේ ඇල්ම බැල්ම වඩාත් හොඳින් තියෙන වෙලාව. ඒ වගේම ලොව්තුරා බුදුවරයන් වහන්සේලා බුද්ධත්වයට පත් වෙන්නෙත් මේ කියන අළුයම් බාගයේදී. ඒ නිසා පුර පක්ෂයේ දවසක ඒ වෙලාව යොදා ගන්න පුළුවන් නම් වඩාත් හොඳයි. එහෙම නැතිව වෙනත් දවස්වල වෙනත් වෙලාවක කරන්න එපා කියන එක නෙවෙයි මේ කියන්නෙ.

ඒ වගේම තමයි මේ බෝධි පූජාවක් පොදුවේ මහා පිරිසකට නොකර, යම් කිසි පුද්ගලයෙක් හෝ කිහිප දෙනෙක් එල්ල කරල සිද්ධ කරනව නම්, ඒ පුද්ගලයා හෝ කිහිප දෙනා විසින්ම තම තමන්ට පුළුවන් උපරිමයෙන් ඒ සඳහා කාලය, ශ්‍රමය, ධනය

වියදම් කරල කරනව නම් වඩා හොඳයි. එතනදිත් ශ්‍රමය විශේෂයි. මොකද එතකොට ඒ අයට තියෙන ග්‍රහ දෝස, අපල උපද්‍රව ඇතුළු කර්ම දෝස ඉක්මනින් ගෙවෙන්නත් ඒක හේතුවක් වෙනවා. ඒ වගේම අනුමෝදනාව සඳහා භික්ෂූන් වහන්සේ නමක් හෝ වෙනත් ගිහි පින්වතෙක් සම්බන්ධ කර ගන්න බැරි වුනොත් හැකියාව තියේ නම් ඒක තමන්ටම වුනත් කරගන්න පුළුවන්.

පළමුවෙන්ම තමන් හොඳින් පිරිසිදු වෙලා සුදු පැහැති සරල ගැලපෙන ඇඳුමක් ඇඳගෙන විහාරස්ථානයට ගිහින් බෝ මළුව ඇමදල සුද්ධ පවිත්‍ර කටයුතු කරල සාමාන්‍යයෙන් ඉටු කරන වත්පිළිවෙත් පුරුදු විදිහට ඒ ආකාරයෙන් ඉටු කරන්න. බෝධීන් වහන්සේට පූජා කරන්න සිවුරක්, බෞද්ධ කොඩියක් හෝ පාට 6 ක කොඩියක්, වට තිරයක් ගන්න. පුළුවන් නම් වියනක් සංකේතවත් කරන්න කෝටු 4 ක් හිටවල, උඩින් පිරිසිදු සුදු රෙදි කැබැල්ලක් එල්ලන්න. දැන් ඒ වියන යට පූජා භාණ්ඩ තැන්පත් කරන්නත් පුළුවන්. මුලින්ම සිවුර අරගෙන බුදුන් වහන්සේට පැළඳුවා හා සමානව බෝධීන් වහන්සේගේ ශක්තිමත් බෝ අත්තක පළඳන්න. එහෙම පළඳන්න අවස්ථාවක් නැත්නම් වෙනත් සුදුසු විදිහකට පූජා කරන්න. ඒ වගේම අෂ්ටපාන (ඇට් කෙසෙල්, කෝලිකුට්ටු, උගුරැස්ස, ඕලු හාල්, අඹ, මිදි, ජම්බු, මී පැණි හෝ තමන්ට පුළුවන් ස්වභාවික පාන වර්ග 8 ක්) පූජා කරන්න.

දැන් ස්වභාවික සුවඳකාරක (සුදු හඳුන්) එකතු කරල පැන් කලයක් සකස් කරල පිරිසිදු සුදු රෙදි කඩකින් වහල පැත්තකින් තියන්න. මෙතනදි පැන් කල 1 ක් හෝ 7 ක් ගන්නත් පුළුවන්. හැබැයි එක පැන් කලයක් 7 වතාවක් පෙරලයි ගන්න ඕන. මොකද එතකොට සුද්ධයි. පෙරහන්කඩ දෙකක් ගත්තම මාරුවෙන් මාරුවට එකකින් පෙරල, ඊළඟ එකින් පෙරල නැවතත් කලින් පෙරහන්කඩ සුද්ධ කරල ඒකෙන් පෙරල... මේ ආදී වශයෙන් ගන්න පුළුවන්. හැබැයි මේ පැන්වලට ගන්න ජලය තමන්ගෙ නිවසින්ම සපය ගන්න ඕන. ඒක ගෙදරදි කරගෙන එන්නත් පුළුවන්. පන්සලේ ජලය ගත්තොත් ඒක ගැලපෙන්නෙ නෑ. ඒ වගේම මේ පැන් කල පෙරන මොහොතේ පටන්ම බුදු ගුණ මෙනෙහි කරගෙන ඒ කටයුත්ත කරනව නම් වඩා හොඳයි. මේ විදිහට පෙරා ගත්ත පැන්



කලවලට සුදු හඳුන් වගේ ස්වභාවික සුවඳ කුඩු ටිකක් එකතු කරන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද එතකොට විශ්වයේ තියෙන සුද්ධ ශක්තිය හොඳින් ගැබ් කරගන්න උපනිශ්‍රය වෙනවා.

ඊළඟට බෝධීන් වහන්සේට මැටි පහන් 9 ක් දල්වන්න. ඒ සඳහා පිරිසිදු පොල්තෙල් යොදා ගන්න. පිරිසිදු පොල්තෙල්වලින් විශ්වයේ තියෙන සුද්ධ ශක්තිය වැඩිපුර ගැබ් කරනවා. ඒ පහන් දල්වන මොහොතෙදි නව අරහාදී බුදු ගුණ අනන්ත ලෙස අප්‍රමාණ ලෙස මනසට නගාගෙන ඒ එක් එක් පහන බුදු ගුණ 9 උදෙසා පූජා කරන්න. අනන්ත විශ්වය වගේ අප්‍රමාණ වූ සියලු යහපත් ගුණ එකතු කරල කොටස් 9 කට බෙදල එයින් එක කොටසක් ගත්තම ඒක එක බුදු ගුණයක් විදිහට සළකන්න පුළුවන්.

**අරහං බුදු ගුණයට මේ පහන පූජා වේවා**

**සම්මා සම්බුද්ධ ගුණයට**
**මේ පහන පූජා වේවා**

**විජ්ජාචරණ සම්පන්න බුදු ගුණයට**
**මේ පහන පූජා වේවා**

**සුගත බුදු ගුණයට මේ පහන පූජා වේවා**

**ලෝකවිදූ බුදු ගුණයට**
**මේ පහන පූජා වේවා**

**අනුත්තරෝ පුරිසදම්මසාරථී**
**බුදු ගුණයට මේ පහන පූජා වේවා**

**සත්ථා දේව මනුස්සානං**
**බුදු ගුණයට මේ පහන පූජා වේවා**

**බුද්ධෝ බුදු ගුණයට**
**මේ පහන පූජා වේවා**

**භගවා බුදු ගුණයට මේ පහන පූජා වේවා**

මේ එක ක්‍රමයක්. ඒ වගේම පහන් 3 ක් අරගෙන තවත් ක්‍රමයකට කරන්නත් පුළුවන්. පහන් 3 න් පෙන්වන්නෙ බුද්ධ, ධම්ම, සංඝ කියන තිසරණය. ඒකෙන් බලාපොරොත්තු වෙන්නෙ තිසරණයේ පිහිට ආරක්ෂාව. මේ පහන් පූජා කරන්න තියනකොටත් විශේෂත්වයක් තියෙනවා. බුලත් කොළ උඩ තමයි පහන් තියන්න ඕන. මොකද බුලත් **කොළයෙන් පොළවේ තියෙන සුද්ධ ශක්තියත් උරාගෙන පහන් තෙලට ලබා දෙනවා. බුහුමන් ලත් කියන එකයි බුලත් කියන්නෙ.** බුලත් කොළ ගන්නකොටත් පිරිමි කොළ තෝරලයි ගන්න ඕන. මොකද පිරිමි කොළවල තමයි පිරිම හෙවත් පිරිච්ච ගතිය වැඩි. බුලත් කොළයේ මැද තියෙන ප්‍රධාන නාරටියට දෙපසින් එකතු වෙච්ච රේඛා නැවත එකට එකතු වෙලා සරල රේඛාවක් විදිහට තියෙන ක්‍රමවත් කොළ තමයි පිරිමි කොළ කියන්නෙ. ඒ රේඛා එහාට මෙහාට විහිදිලා එකට එකතු නොවී අක්‍රමවත්ව පරස්පරව තියෙනව නම් ඒවා පිරිමි කොළ නෙවෙයි.

ඒ වගේම බුලත් කොළ අතුරනකොටත් නැට්ට පැත්ත උතුරට හිටින්නයි තියන්න ඕන. පහන් දැල්ලත් උතුරු පැත්තටයි තියන්නෙ. මොකද උතුරු දිසාවෙන් පෙන්වන්නෙ උත්තරීතර මිනිස් දම්. හිරු නැගෙන දිසාව අනුව හෝ මාලිමා යන්ත්‍රයක් මගින් හෝ උතුරු දිසාව හොයාගන්න පුළුවන්. බෝධි පූජාව පොදුවේ විසාල පිරිසකට කරනව නම්, මේ පහන් 3 තුන් දෙනෙක් විසින් දැල්වීම තමයි වඩාත් සුදුසු. බුදුන් වහන්සේ වෙනුවෙන් දල්වන පහන සඳහා බෝධි පූජාව මෙහෙය වන ස්වාමීන් වහන්සේ හෝ ගිහි පින්වතා හෝ ඉදිරිපත් වෙන්න පුළුවන්. දහම්, සඟුන් වෙනුවෙන් තවත් ගුණ වඩපු පින්වතුන් දෙන්නෙක් ඉදිරිපත් වෙන්න පුළුවන්. පුද්ගලිකව රෝගියෙක් වෙනුවෙන් කරනව නම් ඒ රෝගියා විසින්ම පත්තු කිරීම වඩාත් හොඳයි. දැන් මේ පහන් 3

හෝ ඊට කලින් සඳහන් කළ පහන් 9 තමයි මූලික පහන් වෙන්නෙ. මේ පහන් දැල්ලේ ආලෝකයෙන් තමයි අනෙක් පහන් වැටවල්වල පහන් පත්තු කරන්නෙ. එතකොට තමයි ත්‍රිවිධ රත්නයෙන් නැගෙන ශාන්තිය අනෙක් පහන් හරහා විහිදිලා පැතිරිලා යන්නෙ.

මේ විදිහට පහන් පූජා කරල බෝධීන් වහන්සේට මල්, සුවඳ දුම්, ගිලන්පස... ආදිය තියල බුද්ධ පූජාමය වතාවත් ඉටු කරන්න. මේ මොහොතෙදි බුදු පියාණන් වහන්සේ මේ මහා බෝධි වෘක්ෂ මූලයේ වැඩ ඉන්නවා කියල හිතින් මවා ගන්න.

දැන් පැන් කලය දෝතට අරගෙන මේ විදිහට හිතන්න.

මේ බෝධි වෘක්ෂ මූලයේ වැඩ සිටින්නා වූ අමා මෑණි බුදු පියාණන් වහන්සේ උදෙසා මම මේ සිදු කරන්නේ මහා බුද්ධ පූජා උපහාරයක්. බුදු පියාණන් වහන්සේගේ අනන්ත වූ අප්‍රමාණ වූ බුදු ගුණ, යමෙක් අංශු මාත්‍රයක් හෝ සිහි කරනව නම්, ඔහුට / ඇයට අප්‍රමාණ පින් කුසල් අත්වන බව බුද්ධ දේශනාවයි.

මේ විදිහට මෙනෙහි කරමින් පැන් කලය අරගෙන දක්ෂිණාවර්තව බෝධීන් වහන්සේ වටා වට 9 ක් ගමන් කරන්න. දක්ෂිණාවර්තව ගමන් කරන්නත් හේතුවක් තියෙනවා. සිදුහත් කුමාර උප්පත්තිය සිදු වූ අවස්ථාවෙදි, උන්වහන්සේ මතු ඒකාන්තයෙන්ම බුද්ධත්වයට පත්වෙනවා කියල කොණ්ඩඤ්ඤ තාපසතුමා අනාවැකිය කිව්වෙ දකුණට කැරකිච්ච ඌර්ණ රෝම ධාතුව දැකල. ඒ කිව්ව වගේම ඒක ඒකාන්තයෙන්ම සිද්ධ වුනා. ඒ නිසා දකුණට ගමන් කරනවා කියන්නෙ, යම් කිසි දෙයක් ඒකාන්තයෙන්ම සිද්ධ වෙනවා කියන අදහස. හේතු ගැලපිලා තියේ නම් ඒක ඉෂ්ට සිද්ධ වෙන්න උපනිශ්‍රය වෙනවා. වැදගත් ගමනක් යනකොටත් දකුණු කකුල පෙරට තියල යන්න කියන්නෙ ඒකයි.

නමෝ අරහං... නමෝ සම්මා සම්බුද්ධෝ,.. නමෝ විජ්ජාචරණ සම්පන්නෝ... ආදී වශයෙන් එක බුදු ගුණයක් එක වටයකදී වඩන්න. සෑම වටයක් අවසානයේදීම පැන් ටිකකින් බෝධිය දෝවනය කරන්න. මේ විදිහට ගමන් කරනකොට වට පිට බලන්නෙ නැතිව, දෑස් දෙපාවලට අඩි 2 ක් විතර ඉදිරියෙන් බිම බලාගෙන හෙමින් පැදකුණු කිරීම සිත සමාධිගත වෙන්න උපකාර වෙනවා.

මේ විදිහට නිවැරදිව කරනකොට වට 9 අවසානයේදී සිත පෙරට වඩා සැහැල්ලු වෙලා යම් ප්‍රමාණයකට බුදු ගුණ සමාධියක් සිතේ වැඩිල සිත සමාධිගත වෙන්න හේතු වෙනවා. නැවතත් "ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ..." ගාථාව කියමින් බෝධීන් වහන්සේ වටා 3 වරක් හෝ 7 වරක් හෝ 9 වරක් ආදී වශයෙන් පැදකුණු කරමින් බෝධි මූලයට පැන් වඩන්න. මේ ගාථාව කියනකොටත් යම් කිසි පුද්ගලයින් පිරිසක් අරමුණු කරල කරනව නම් "ජයස්සු තුයිහං" කියලත්, තමන් වෙනුවෙන් නම් "ජයස්සු මයිහං" කියලත් සජ්ජායනා කරල සියලු සත්ත්වයින් වෙනුවෙන් "ඒතේන සච්චේන සුවත්ථි හෝතු" කියල අවසන් කිරීම වඩාත් සුදුසුයි. පැන් දෝවනය අවසන් වුනාට පසු බෝධීන් වහන්සේ ඉදිරිපිට වාඩි වෙලා ලෝකෝත්තර හෙවත් ආර්ය මෛත්‍රී භාවනාව ටික වෙලාවක් වඩන්න. (මේ භාවනා කර්මස්ථානය 81 කලාපයේ "නිවන් ලැබ දෙන කමටහන්" ලිපිය යටතේ පළ කරල තියෙනවා.)

ඉන්පසු මේ විදිහට හිතන්න.

මෙසේ අනන්ත ගුණ ඇත්තා වූ, අනන්ත තේජස ඇත්තා වූ අමා මෑණි බුදු පියාණන් වහන්සේ උදෙසාත්, බෝසතාණන් වහන්සේගේ අප්‍රමාණ පාරමිතා බලයෙන් ස්වයංජාතව සහජාත ප්‍රත්‍යයෙන් ලොව පහල වූ, තථාගතයන් වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පත්වීමට පිට දුන්නා වූ, ඒ විජය ශ්‍රී ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේටත් උන්වහන්සේගේ බෝධි ශාඛාවටත් මා / අප විසින් දස අකුසලයෙන් මිදී සිත, කය, වචනය සංවරව ශ්‍රද්ධා ගෞරව භක්තියෙන් යුතු සිත් ඇතිව සුවඳ පැනින් නහවා මල් පහන් සුවඳ දුම් ගිලන්පස ආදියෙන් මහා උපහාර පූජා පවත්වා අනන්ත අප්‍රමාණ වූ සූවිසි ගුණ සිහි කොට සිදු කළා වූ මේ වන්දනාමාන පුද පූජාවන් හේතුකොටගෙන මා / අප විසින් මහා පුණ්‍යස්කන්ධයන් රැස් කර ගත්තා. (තමන් තනියෙන් කරනව නම් "මා" කියලත්, පවුලේ අය එකතු වෙලා කරනව නම් "අප" කියලත් සුදුසු විදිහට යොදාගන්න පුළුවන්.)

දැන් තමන්ට තියෙන ලෙඩ රෝග, ග්‍රහ අපල උපද්‍රව, බාධක... ආදී ගැටළුව සිහි කරන්න.

අනන්ත සංසාරයේ මා / අප විසින් බුද්ධ, ධම්ම, සංඝ යන තුනුරුවන්ටත් ලෝක සත්ත්වයාටත් සිදු කර ඇති අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝස, හිංගි හිංසාවල හේතුවක ප්‍රතිඵලයක් වශයෙන් අද මා / අප කරා මෙම ගැටළුව පැන නැගී ඇති බව දනිමි / දනිමු. මෙසේ මා / අප විසින් රැස් කළා වූ අප්‍රමාණ වූ මහා පුණ්‍යස්කන්ධය ඒ මා / අප වෙතින් අවැඩට, අසාධාරණයන්ට, හිංගි හිංසාවලට ලක් වුනා වූ සත්ත්වයා හෝ සත්ත්ව කොට්ඨාසය අතරින් සම්දිටු ගුණ දරන සත්ත්වයින් කවර හෝ ස්ථානයක කුමන හෝ අත්බවයක සිටියත් ඒ අය කරා ගලා යාවා! විහිදේවා! පැතිරේවා! පිහිටාවා! සියලු යහපත උදා වේවා! අනෙක් සියලු සතුන්ට දස අකුසලයෙන් වෙන්ව දස කුසල් වඩමින් දස පුණ්‍ය ක්‍රියාවල නිරත වෙමින් සම්දිටු ගුණ පහල කරගෙන සුගති අත්බැව් ලබන්නත් හේතු වාසනා වේවා!

ඒ සත්ත්වයින්ගෙන් යම් කිසි සත්ත්වයෙක් හෝ සත්ත්ව කොටසක් දුක්ඛිත භවයක සිටී නම් ඉන් අත්මිදී සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන උතුම් වූ ආර්ය මාර්ගයට පැමිණ චතුරාර්ය සත්‍යය අවබෝධ වී ඔවුන්ගේ නිර්වාණ ශාන්තිය උදෙසාම උපනිශ්‍රය වීමට හේතු වාසනා වේවා... නිවනම වෙත්වා.../ / /

මේ පුණ්‍ය ශක්තීන්ගේ ආනුභාවයෙන් ඒ සියලු අවැඩ අසාධාරණ වැරදි ප්‍රමාද දෝසයන්ට හිංගි හිංසාවන්ට වන්දි ගෙවා මා / අප නිදහස් වෙත්වා!

මෙසේ මා / අප විසින් දැන හෝ නොදැන සිදු කළා වූ අකුසල කර්ම නැවතත් සිදු නොකිරීමට මම / අපි අදිටන් කරමි / කරමු. මේ මොහොතේ මගේ සිත, කය, වචනය යන තිදොරම අවංකයි, පිරිසිදුයි, පිවිතුරුයි (මේ වචනවල අදහස 82 කලාපයේ පළ වූ "නිවන් ලැබ දෙන කමටහන්" ලිපිය යටතේ ඉදිරිපත් කරල තියෙනවා). අමා මෑණි බුදු පියාණන් වහන්සේ උදෙසාත්, මහා බෝධි රාජයාණන් වහන්සේ උදෙසාත් සිදු කළා වූ මහා උපහාර පුද පූජාවන් හේතු කොටගෙන උදා වූ මහා පුණ්‍යස්කන්ධයේ ආනුභාවයෙන් මේ සියලු පාපාන්ධකාර දෝසාන්ධකාර දුරු වේවා! සියලු යහපත, සෙත, අභිවෘද්ධිය, ජයග්‍රහණය සැලසේවා!

එසේම බෝධි පූජා උපහාරයෙන් සිදු වුනා වූ මහා කුසලය, පින් කැමති අප්‍රමාණ සක්වල වසන සියලු බ්‍රහ්මයින් වෙතටත්, සියලු දෙවි

දේවතාවුන් වෙතටත්, සියලු මනුස්සයින් වෙතටත්, සියලු අමනුස්සයින් වෙතටත්, සියලු ලෝක සියලු සත්ත්වයින් වෙතටත් විහිදී පැතිරී පිහිටා සියලු යහපත උදා වේවා! අවසානයේදී උතුම් වූ තිලකුණු, චතුරාර්ය සත්‍යය, ආර්ය අෂ්ටාංගික මාර්ගය, පටිච්ච සමුප්පාදය යන ධර්මයන් අවබෝධ වී අප සැමගේ උතුම් වූ අමා මහා නිර්වාණාවබෝධය පිණිසත් මේ මහා පුණ්‍ය කුසල සම්භාරය උපනිශ්‍රය වී හේතු වාසනා වේවා..! සාදු! සාදු!! සාදු!!!

**<u>මේ තියෙන්නෙ තවත් ක්‍රමවේදයක්...</u>**

ගෙදර පාවිච්චි කරන ජලයෙන් පැන් කලයක් අරගෙන 7 වතාවක් පෙරාගන්න. ඒ පැන් කලය සබ්බ පාපස්ස ගාථාවෙන් 21 ක් වතාවක්, ජයෝ මුනින්දස්ස ගාථාවෙන් 21 ක් වතාවක්, නමෝ තේ බුද්ධ වීරත්තු - විප්ප මුත්තෝසි සබ්බදී - සම්බාධ පටි පන්නෝස්මි - තස්ස මේ සරණං භවාති... කියන ගාථාවෙන් 108 වරක් හෝ යම්බුද්ධ සෙට්ඨෝ කියන ගාථාවෙන් (මෙම ගාථාව රතන සූත්‍රයේ සඳහන් වෙනවා) 108 වරක් හෝ ඒ දෙකෙන්ම හෝ පිරිත් කරගන්න. නැවතත් ජයෝ මුනින්දස්ස ගාථාවෙන් 7 වරක්, සබ්බ පාපස්ස ගාථාවෙන් 7 වරක් පිරිත් කර ගන්න. ඊට අමතරව පහත දෑ සපයා ගන්න.

පහන් 1008 යි, සුදු නෙළුම් මල් වට්ටි 1 යි, මල් 40 ක් සහිත නිල් මල් මාලා 1 යි, මල් 40 ක් සහිත සුදු මල් මාලා 1 යි, රන් දෝතලු මලක් හෝ විවෘත නොකළ පුවක් මල් 1 යි, නිල් කොඩි 7 යි, රතු කොඩි 7 යි, කිරිපිඩු පාත්‍ර 1 යි, කිරි පැණි පාත්‍ර 1 යි, කෝලිකුට්ටු ගෙඩි 1 යි, දැහැත් වට්ටි 1 යි, පැන් වීදුරු 1 යි, ඖෂධ වට්ටි 1 යි, අට පිරිකර 1 යි.

## පැන් කල පූජාව

පළමුව 7 වතාවක් පෙරා ගත්ත පැන් කලය අතට අරගෙන පහත අධිෂ්ඨානය 3 වතාවක් කරන්න. මොකද තුන් වතාවකින් තමයි කෙනෙකුට යමක් හරියටම උරුම වෙන්නෙ, තේරුම් යන්නෙ. තේ + උරුම හෙවත් තුන් වතාවකින් උරුම වෙනවා කියන එක තමයි තේරුම කියන්නෙ. ඉන්පසු බෝධීන් වහන්සේගේ දකුණු පසින් බුදු ගුණ සජ්ජායනා කරමින් රවුම් 7 ක් යන්න. රවුම් 7 අවසානයේත් ඒ අධිෂ්ඨානය 3 වතාවක් කරල බෝධීන් වහන්සේට පැන් වත් කරන්න.

## අධිෂ්ඨානය

මෙතෙක් ලොව පහල වූ සියලුම සම්මා සම්බුදු පියාණන් වහන්සේලාට බුද්ධත්වයට පත් වෙන්න උපකාර වූ සියලුම ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේලාට මේ පැන් පූජාව උපහාර පූජාවක් වේවා. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන් මට හා අප පවුලේ සියලු දෙනාට පවතින සියලු කායික හා මානසික රෝග, අපල උපද්‍රව බාධක / දැනට මට පවතින කායික රෝගය සුවපත් වීමට ඇති සියලු බාධක / මගේ අධ්‍යාපන කටයුතුවලට පවතින සියලු බාධක / දැහැමි ව්‍යාපාර කටයුතුවලට පවතින බාධක / අප දෙදෙනාට දැනට යහපත් දරුවෙකු ලැබීමට පවතින රෝගී තත්ත්වය හා ඒ සඳහා පවතින බාධක ඉවත් වෙන්න සාසන ආශිර්වාදය ලැබේවා. (තමන්ගේ අවශ්‍යතාවයට ගැලපෙන විදිහට වාක්‍ය කාණ්ඩ යොදා ගන්න)

## ආලෝක පූජාව

මෙතෙක් ලොව පහල වූ සියලුම බුදු පියාණන් වහන්සේලාගේ ප්‍රඥාලෝකයට මේ ආලෝක පූජාව උපහාර පූජාවක් වේවා. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන්... (ඉහත සඳහන් අධිෂ්ඨානයේ ඉතිරි කොටස ගැලපෙන විදිහට යොදාගෙන තුන් වරක් බැගින් කියන්න.)



## ආහාර පූජාව

බෝධීන් වහන්සේට කිරිපිඩු, කිරි පැණි, දැහැත්, පැන්, ඖෂධ පූජා තැන්පත් කරනකොට, මෙතෙක් ලොව පහල වුනා වූ සියලුම බුදු පියාණන් වහන්සේලා ප්‍රමුඛ එදා සිට අද දක්වා වැඩ සිටියා වූද, වැඩ සිටින්නා වූද, අෂ්ට ආර්ය පුද්ගල මහා සංඝ රත්නයට පූජා කරමි, පූජාම වේවා කියන අදහසින් පූජා කරන්න. (ඉහත සඳහන් අධිෂ්ඨානය ආහාර පූජාවට ගැලපෙන විදිහට වචන යොදාගෙන 3 වරක් කරන්න.) ඒ වගේම කිරිපිඩු, කිරි පැණි පූජා කරන්න ඕන බෝධි පූජාව අළුයම් බාගයේ හෝ දවල් 12.00 ට පෙර කරනව නම් විතරයි.

## ඖෂධ පූජාව

මෙතෙක් ලොව වැඩ සිටියා වූ බුදු පියාණන් වහන්සේලා ප්‍රමුඛ අෂ්ට ආර්ය පුද්ගල මහා සංඝ රත්නය උදෙසා මේ ඖෂධ පූජාව පූජා කරමි, පූජාම වේවා. විවිධ කායික රෝගවලින් පෙළෙන්නා වූ ආර්ය උත්තමයන් වහන්සේලා දැනට වැඩ සිටී නම් ඒ උත්තමයන් වහන්සේලාගේ විවිධ කායික රෝග සුවපත් වීමට මේ ඖෂධ පූජාව පූජා කරමි, පූජාම වේවා කියන අදහසින් පූජා කරන්න. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන්... (ඉහත සඳහන් අධිෂ්ඨානය ගැලපෙන විදිහට යොදාගෙන 3 වරක් කරන්න.)

මල් මාලා සහ කොඩි බෝධීන් වහන්සේට පූජා කරන්න.

## අටපිරිකර පූජාව

බෝධීන් වහන්සේගේ දකුණු පසින් පැදකුණු කරන ගමන් මේ අධිෂ්ඨාන වාක්‍යය කියල අටපිරිකර පූජා කරන්න. මේ අටපිරිකර පූජා කිරීමෙන් ලැබෙන පුණ්‍ය කුසල ශක්තිය සෙනසුරු ග්‍රහ මණ්ඩලවල දෙවි දේවතාවුන් ප්‍රධානව සියලුම ග්‍රහ මණ්ඩලවල දෙවි දේවතාවුන්ටත් සසර ගමනේදී අපෙන් / මගෙන් කාට හෝ අවැඩක් අසාධාරණයක් වී ඇත්නම් ඒ අය තුන් ලෝකයේ කොතැනක හෝ සත්‍යක් දෘෂ්ටිකව සිටී නම්

මේ පුණ්‍ය කුසල ශක්තීන් ඔවුන් කරා විහිදේවා, පැතිරේවා, පිහිටාවා. අනෙක් සියලු සත්ත්වයින්ටත් මේ පුණ්‍ය කුසලයේ බලයෙන් දස අකුසලයෙන් වෙන් වී දස පුණ්‍ය ක්‍රියා කරමින් සම්‍යක් දෘෂ්ටික බවට පත් වීමට මේ පින් කුසල් හේතු වේවා. ඒ වගේම මේ සියලු පුණ්‍ය කර්මයන් සෙනසුරු දිව්‍ය පුත්‍රයන් ඇතුළුව සියලුම ග්‍රහ මණ්ඩලවල දෙවි දේවතාවන්ට අනුමෝදන් වේවා. මේ පුණ්‍ය කුසල ශක්තීන්ගේ බලයෙන් උතුම් වූ නිවන් අවබෝධ කර ගැනීමට හේතු වාසනා වේවා. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන්... (ඉහත සඳහන් අධිෂ්ඨානය 3 වරක් කරන්න.)

## මල් පූජාව

බෝධීන් වහන්සේගේ දකුණු පසින් වට 3 ක් යන්න. බුදු ගුණ කියමින් ආරම්භ කරන තැන පටන් මේ අධිෂ්ඨානය කරන්න. මෙතෙක් ලොව පහල වුනා වූ සියලුම බුදු පියාණන් වහන්සේලාගේ සීල ගුණයට, ශ්‍රී පාද පද්මයට මේ මල් පූජාව උපහාර පූජාවක් වේවා. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන්... (ඉහත අධිෂ්ඨානය 3 වරක් කරන්න.)

**තමන්ගේ හෝ සියලු දෙනාගේම පාවිච්චිය සඳහා පැන් කලයක් සෙත් කර ගැනීමට අවශ්‍ය නම් පහත ක්‍රමය අනුගමනය කරන්න.**

මුලින්ම පොටවල් 9 ක නූලක් හදාගන්න. පොටවල් 9 ක් ගන්නෙ බුදු ගුණ 9 සිහි කරන්න, ඒ ගුණයන්ගේ බල පිහිටුවන්න. වෙළඳසැල්වල තියෙන සුදු කපු නූල් බෝල 9 ක් අරගෙන ඒවායේ කෙළවරවල් එකට හිටින විදිහට අරගෙන පන්දුව ඔතා ගත්තම නව පොටකින් යුක්තයි. ඊට පස්සෙ ඒ නූල අග බෝධීන් වහන්සේගේ උතුරු දිසාවට ගිය අත්තක පටලවා ගන්න. ඒ විදිහට නූල දිගටම බෝධීන් වහන්සේගේ ඉඳන් ඇදගෙන ඇවිත් අතරමග නූල් ගැට හිටින්නෙ නැතිවෙන්න යන්ත්‍රයක නූලක් ඔතන ආකාරයට එකට තියපු අමු ඉරටු 3 ක හත් පොටක් ඔතල ඒ ඉරටු පැන් කලයේ ගිල්වන්න. දැන් ඉරට්ටෙන් එළියට එන නූල් පන්දුව බෝධි පූජාව මෙහෙය වන භික්ෂූන් වහන්සේ හෝ පින්වතා අතේ තියාගෙන බෝධි පූජාව මෙහෙය වන්න. අවසානයේ නව අරහාදී බුදු ගුණ ගාථාවෙන් 108 වරක් පිරිත් කරන්න. මේ සෙත් පැන් පානය කරන්න ගන්න.

## පඬුරු ගැට ගැසීම

මට පවතින කායික / මානසික රෝගය සුවපත් වීමට සහ අප පවුලේ සියලු දෙනාට පවතින සියලු කායික මානසික රෝග හා අපල උපද්‍රව බාධක, දියුණුවට පවතින සියලු බාධක ඉවත් වීමට... (අවශ්‍ය කාරණය අධිෂ්ඨාන කරල) සාසන ආශිර්වාදය ලැබේවා කියල 3 වතාවක් අධිෂ්ඨාන කරල සම්බුද්ධ සාසනය උදෙසා පඬුරු ගැට ගහන්න.

නැවත වාඩි වෙලා චන්ද්‍ර, සූර්ය දේවතාවෝ, සෙනසුරු දිව්‍ය පුත්‍රයන් හා සතර වරම් දෙවියන් ඇතුළු සියලු දෙවි දේවතාවුන් සිහි කරල ආකාසට්ඨාච භුම්මට්ඨා... ගාථාව 3 වතාවක් කියල පින් අනුමෝදන් කරන්න. (පඬුරු ගැට ගැසීම සම්බන්ධව මේ කලාපයේම පල කරල තියෙන ලිපියත් කියවන්න.)

සියලු පූජා අවසන් වුනාට පසු බෝධීන් වහන්සේ ළඟ සියලු ගාථා සජ්ජායනා කරල මේ පූජාවන් නැවත පූජා කරන්න. ඉන්පසු පින් අනුමෝදන් කරන්න. අනන්ත සසර ගමනේදී අප අතින් අවැඩට අසාධාරණයන්ට ලක් වුන අය ඇත්නම්, එවැනි අය සම්‍යක් දෘෂ්ටිකව සිටී නම් මේ පින් අනුමෝදන් වේවා. අනෙක් සෑම සියලු දෙනාම සම්‍යක් දෘෂ්ටික බවට පත් වී මේ පින් අනුමෝදන් වේවා, දුගතියක සිටී නම් මේ කුසල ශක්තියේ බලයෙන් සුගතිගාමී වේවා, අවසානයේ උතුම් නිවනම අවබෝධ වීමට හේතු වාසනා වේවා. ඒ වගේම සෙනසුරු දිව්‍ය පුත්‍රයන් ඇතුළුව සියලුම දෙවි දේවතාවුන් මේ පින් අනුමෝදන් වේවා. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන් උතුම් නිවන අවබෝධ කර ගැනීමට හේතු වාසනා වේවා. දෙමාපියන් ඇතුළු සසර ගමනේදී හමු වුනා වූ සියලුම සතර වරිගයේ ඥාතීන්ටත් අපෙන් පින් බලාපොරොත්තු වන කවුරුහරි ඇත්නම් ඒ අයත් අණුවින බන්ධනයන්ට ලක් වුන කවුරු හරි ඇත්නම් ඒ අයත් සියලු බන්ධනවලින් නිදහස් වී පින් අනුමෝදන් වී සුගතිගාමී වෙත්වා. මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන් ඔවුන්ටද උතුම් වූ නිවන් අවබෝධ කර ගැනීමට හේතු වාසනා වේවා... මේ විදිහට කියල පින් අනුමෝදන් කරන්න. අවසානයේ කරණීය මෙත්ත සූත්‍රය කියල අවසන් කරන්න.

මේ සියල්ලම අවසානයේ යහපත් දරුවන් ලැබීමට බලාපොරොත්තු වන පින්වතුන් ඉන්නව නම් ඊට අමතරව පහත ආකාරයට ක්‍රියා කරන්න. සියල්ල අවසන් කළාට පසුව එහෙම කරන්නත් හේතුවක් තියෙනවා. මොකද එතකොට තමන්ගෙ තිබිච්ච ග්‍රහ අපල දෝසාන්ධකාර ආදී කර්ම වේග එක්තරා මට්ටමකට ගෙවිල තියෙන නිසා යහපත් දරුවෙක් ලැබෙන්න පරිසරය සකස් වෙලා තියෙනවා.

රන් දෝතලු මල හෝ පුවක් මල අතට අරගෙන බෝධීන් වහන්සේ වටේ බුදු ගුණ කියමින් වට 3 ක් ගිහින් ඒ මල විවෘත කරල බෝධීන් වහන්සේට පූජා කරල දණ නමස්කාර කරල නැණ නුවණින් යුත් පින්වත් යහපත් දරුවෙක් අප කරා එන්න කියල 3 වතාවක් ආරාධනා කරන්න. (වැඩි විස්තර සඳහා 71 කලාපයේ පළ වූ "නැණවත් බොදු දරුවෙක් ලොවට දායාද කරමු" නම් ලිපිය බලන්න.)

සසර ගමනේදී දරුවෙකු, දරු ගැබක් විනාස කර ඇත්නම්, දරුවෙකු ලැබීමට බාධා කර ඇත්නම්, දරුවන්ට පීඩා කරදර කර ඇත්නම්, දරුවන් අතරමං කර ඇත්නම්, එවැනි අවැඩක් අසාධාරණයක් අපෙන් කාට හෝ වී ඇත්නම් ඒ අය තුන් ලෝකයේ කොතැනක හෝ සම්‍යක් දෘෂ්ටිකව සිටී නම් මේ පුණ්‍ය කුසලයන් ඔවුන් කරා විහිදේවා, පැතිරේවා, පිහිටාවා. අනෙක් සෑම සියලු දෙනාම මේ පුණ්‍ය කුසලයේ බලයෙන් දස අකුසලයෙන් වෙන් වී, දස පුණ්‍ය ක්‍රියා කරමින් සම්‍යක් දෘෂ්ටික බවට පත් වී මේ පින් අනුමෝදන් වේවා, මේ පුණ්‍ය කුසල ශක්තියේ බලයෙන් උතුම් වූ නිවන් අවබෝධ කර ගැනීමට හේතු වාසනා වේවා.

**සියල්ල අවසානයේ තමන් විසින් තැබූ පූජාවන් අස් කරල පිරිසිදු කරල යන්න. බුද්ධ පූජාවට තියපු ආහාරපාන ආදිය කාට හෝ ආහාරයක් වේවා කියන අදහස ගන්නෙ නැතිව බුද්ධ පූජාව ඉවත් කරනවා කියන සංඥාවෙන් ඉවත් කරන්න ඕන.**

(මේ සම්බන්ධයෙන් තවත් සියුම් කරුණු රැසක් තිබුනත් ඒ සියල්ලම එකවර ලිපියකින් ඉදිරිපත් කළ නොහැකි නිසා, ඒ පිළිබඳව තවත් විස්තර රැගත් ලිපියක් ඉදිරි කලාපයෙන් බලාපොරොත්තු වන්න.)

සටහන :

**නීතිඥ චන්දන සිරිවර්ධන සමග**
**පරිගණක ඉංජිනේරු ෆික්රි ඉස්මයිල්**

# නොපළ වූ ගුණ කඳු XV



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 86**

## සාසනය උදෙසා පඬුරු ගැට ගැසීමේ නොදුටු පැතිකඩ...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි කාලයේ පටන් ළඟින් ඇසුරු කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක්, තමන් වහන්සේගේ අත්දැකීම් ඇසුරින් ඉදිරිපත් කරන ලිපි මාලාවේ තවත් කොටසක් තමයි මේ. අනාදිමත් කාලයක පටන් පැවතෙන පඬුරු ගැට ගැසීම ගැන අපි නොදකින තවත් පැතිකඩක් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නෙ.

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ පැවිදි වෙන්න පෙර ගිහි වතේ උපාසක මහත්තයෙක් වශයෙන් කටයුතු කරපු කාලයේ බොහෝ රෝගීන්ගේ විවිධ කායික මානසික රෝග සුවපත් කළ ආකාරය ගැන හිතන කියනකොට පැහැදිලි වෙන කාරණයක් තියෙනවා. ඒ තමයි, බොහෝ අවස්ථාවල ඒ එන රෝගීන්ට ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා අවසානයේ පඬුරු ගැට ගහල යම් කිසි අධිෂ්ඨානයක් කරන්න කියනවා. ඊට පස්සෙ තමයි යම් කිසි කෙනෙකුට බෙහෙත් හේත්, සමාධි ප්‍රතිකාර සහ විවිධ සාසන ආශිර්වාදාත්මක සෙත් ශාන්ති කටයුතු කරන්නෙ. ඒ නිසා සාසනික වශයෙන් පඬුරු ගැට ගැසීම පිළිබඳවත් තරමක් දුරට හෝ දැනුවත් වීම හොඳයි කියල හිතෙන නිසා, මගේ මතකයේ හැටියට මම දැනුවත් වෙලා තියෙන ආකාරයට යමක් කියන්නයි මේ බලාපොරොත්තු වෙන්නෙ.

වහරක අබේරත්න උපාසක මහත්තය විවිධ කරුණු කාරණාවන් පිළිබඳ දහම් සාකච්ඡා කළ බොහෝ අවස්ථාවල වගේම, සෙසු අය කරන සාකච්ඡාවලටත් අපි සම්බන්ධ වෙලා අහගෙන හිටපු අවස්ථා ඕන තරම් තිබුනා. එබඳු සමහර අවස්ථාවල දහම් මාර්ගයේ ගමන් කරන බොදු පිරිස සාසනික වශයෙන් බාර හාර වීම්, පඬුරු ගැට ගැසීම් ආදිය පිළිබඳවත් සාකච්ඡා කළා. ඒ වගේ අවස්ථාවල අබේරත්න උපාසක මහත්තය අපිට මේ විදිහට කරුණු කාරණාවන් පිළිබඳව පැහැදිලි කිරීම් කරල තියෙනවා.

ස්වාමීන් වහන්ස, මේ හැම දෙයක්ම කාලානුරූපීව යම් යම් වෙනස් වීම්වලට ලක් වෙනවා. අපේ සිතුම් පැතුම්, සිරිත් විරිත්, චාරිත්‍ර වාරිත්‍ර ආදියත් කාලෙන් කාලෙට පළාතෙන් පළාතට වෙනස් වෙනවා. ඒ වගේම ඒ ඒ අයගේ අවශ්‍යතාවයන් මත හිතාමතාම වෙනස් කරගන්න අවස්ථා තියෙනවා. බුදු පියාණන් වහන්සේ වැඩ හිටිය මුල් කාලයේ උන්වහන්සේගෙන් වගේම කළ්‍යාණ මිත්‍ර ශ්‍රාවක ආර්ය උතුමන් වහන්සේලාගෙන් පෙර නොඇසූ විරූ දහමක් ශ්‍රවණය කරල, ලෝකයේ අසාරත්වය තේරුම් අරගෙන ඒ අනුව කටයුතුකරපුබොදුපිරිසක්තමයිබොහෝ කොටම හිටියෙ. ඒ වගේම ඒ විදිහට බණ දහම් අහල ඒ දහම් අවබෝධය ලබා ගත්ත බොදු පිරිස අතර සමහර අය ගිහි වතේම ඉඳගෙන තමන්ගෙ වයෝවෘද්ධ දෙමාපියන්ටත් සළකගෙන, දුවා දරුවන්ට, ඥාති හිතමිත්‍රාදීන්ටත් කළ යුතුකම් ඉටු කරගෙන, ගමේ රටේ පොදු කටයුතුවලටත් සම්බන්ධ වෙලා, ආර්ය උතුමන් වහන්සේලාටත් ඇප උපස්ථාන ආදිය කරල ධාර්මිකව කටයුතු කරන ගමන් ආර්ය මාර්ගය පූර්ණ කළා.

ඔය අතර තව පිරිසක් ඒ බණ දහම් අහල දහම් අවබෝධයක් ලබාගෙන දහම් මාර්ගය පූර්ණ කරගන්න පහසු නිසා, තම තමන් කරගෙන ආ ගිහි කටයුතු, ගිහි කර්මාන්ත ආදිය සියල්ල අත්හැරල සම්මා සම්බුද්ධ සාසනයේ පැවිදි භාවයට පත් වෙලා ශ්‍රමණ ගුණ ධර්ම සම්පූර්ණ කරගන්න කටයුතු කළා. එදා අතීතයේ අද වගේ නෙවෙයි, දහම් අදහස් මතු වෙලා තිබුන කාලය. අනික් අය නිවන් දක්වන්න, රටේ ලෝකෙ අය හදන්න, එහෙම නැත්නම් ඉඩකඩම්වල දේපළවල පසු අයිතිය ලබා ගන්න, තාන්න මාන්න නිලතල බලාපොරොත්තුවෙන් කටයුතු කරපු පැවිදි පිරිසක් නෙවෙයි හිටියෙ. මේ කාලයට වඩා ඒ කාලෙ හැම දෙයක්ම බොහොම වෙනස්. අද නම් කෙනෙක් පැවිදි භාවයට පත් වුනාම ඒ දවසෙම අනික් අයටත් ධර්ම දේශනා කරනවා. නමුත් ඒ කාලෙ එහෙම නෑ. බොහෝ අවස්ථාවල තමන්ගෙ වැඩ කටයුතු අවසන් කර ගත්ත උතුමන් වහන්සේලා තමයි සෙසු අය සඳහා ධර්ම දේශනා කළේ.

සමහර භික්ෂූන් වහන්සේලා ළඟට බණ දහම් අහන්න, ධර්ම සාකච්ඡා කරන්න ගිහි පින්වතුන් ආවම බොහෝ භික්ෂූන් වහන්සේලා කරන්නෙ, ආං අතන බුදු පියාණන් වහන්සේ වැඩ ඉන්නවා, ආං අතන සැරියුත් මහ රහතන් වහන්සේ වැඩ ඉන්නවා, ආං අතන මුගලන් මහ රහතන් වහන්සේ වැඩ ඉන්නවා... මේ ආදී වශයෙන් කියල, ඒ ඒ උතුමන් වහන්සේලා වැඩ ඉන්න තැන්වලට දායක පින්වතුන් යොමු කිරීම. ආං අහවල් ගමේ මේ විදිහේ අනාගාමී උපාසක මහත්තයෙක් ඉන්නවා, අහවල් ගමේ මේ මේ විදිහේ රහත් භික්ෂූන් වහන්සේ නමක් වැඩ ඉන්නවා, ගිහින් බණ අහන්න, ධර්ම සාකච්ඡා කරන්න, ඔය ප්‍රශ්නය ඉදිරිපත් කරන්න... ඔය විදිහට කියල ධර්මධර විනයධර මහ තෙරුන් වහන්සේලා ළඟට යවල ඒ සඳහා අවස්ථාව ලබා දෙනවා.

ඒ වගේම **එදා බුදු පියාණන් වහන්සේ වැඩ හිටිය කාලෙ, රජවරු සිටුවරු ආදී රටේ ප්‍රධාන පිරිස් පවා බොහෝ කොටම මග ඵල ලාභී උතුමන් වහන්සේලා. රටේ ප්‍රධාන රජවරු පවා බුදු පියාණන් වහන්සේ හමුවෙලා නිතර දෙවේලෙ බණ දහම් අහල අවවාද අනුසාසනා ලබාගෙන ධාර්මිකව රට පාලනය කරල තියෙනවා.** අදට වඩා එදා මිනිස්සුන්ට වැඩ අඩුයි. ආර්ය ධර්මය ඇහුවම, පෙර නොඇසූ විරූ දහමක් ඇහුවම, ලෝකෙ අසාරත්වය අවබෝධ කරගන්නවා. ඒ තුළින්ම මිනිස්සුන්ට තිබුන අසීමිත බලාපොරොත්තු සීමා වෙනවා. සාමාන්‍ය ජනතාවට තියෙන්නෙ අසීමිත බලාපොරොත්තු. ඒවායේ සීමාවක් නෑ. කෙළවරක් අවසානයක් නෑ. මොන තරම් ලැබුනත් මදි. සෑහීමකට පත් වෙන්න බෑ. දහම් මාර්ගය අවබෝධ කර ගැනීම තුලින් තමයි ඒ අසීමිත බලාපොරොත්තු සීමා වෙන්නෙ. අසීමිත බලාපොරොත්තු සීමා වීමම තමයි දහම් මාර්ගයේ ආරම්භය කියන්නෙ. නැත්නම් මූලික පියවර හැටියට සළකන්නෙ. සෝතාපන්න වුනා කිව්වත්, සම්මා දිට්ඨියට පත් වුනා කිව්වත්, භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා කියන සිව් පිරිසට ඇතුලත් වුනා කිව්වත්, පෘතජ්ජන භාවය ඉක්මවල ආර්ය භාවයට පත් වුනා කිව්වත්, බෞද්ධ වුනා කිව්වත්, මේ කියන මොන නමින් හැඳින් වුවත්, මේ සියලු කාරණාවන්ගෙන් කියන්නෙ එකම අවස්ථාවක් ගැන. හැබැයි මේ කතා කරන්නෙ නිවන් අවබෝධ කරගත්ත පරමාර්ථ බෞද්ධයො ගැන මිසක් පරම්පරාවෙන් එන සම්මත බෞද්ධයො ගැන නෙවෙයි. ඒ සඳහා කල්‍යාණ මිත්‍ර උතුමෙක්ගෙන්, ආර්ය උතුමෙක්ගෙන් බණ දහම් අහන්න ඕන. ලෝකයේ ස්වභාවය, අසාරත්වය තේරුම් ගන්න ඕන. අනිච්ච, දුක්ඛ, අනත්ත පිළිබඳව පැහැදිලි නිවැරදි අවබෝධයක් ලබා ගන්න ඕන. එහෙම නැතිව **අසීමිත බලාපොරොත්තු නෑ කියල හිතාගෙන, තමන් පරිහරණය කරන භෞතික සම්පත් ටික විසි කරල දාල කැලේට වෙලා හිටියට අසීමිත බලාපොරොත්තු නැතිවෙන්නෙ නෑ, සීමා වෙන්නෙ නෑ.**

නිගණ්ඨනාථ පුත්තගේ පිරිස, අපි කිසිම දේකට ආසා කරන්නෙ නෑ කියල විළි වසා ගන්න තිබුන වස්ත්‍රයත් ගලවල දාල නිරුවතින් හිටියා. නමුත් ඒ අය එහෙම හිටියට සෝතාපන්න වුනේ නෑ, ආර්ය ශ්‍රාවකයො වුනේ නෑ. ඒ නිසා අසීමිත බලාපොරොත්තු සීමා වුනා කිව්වම, ඒ වගේ කාරණාවන් පිළිබඳව අවස්ථානුකූලව බුද්ධිමත්තව ධර්මානුකූලව තේරුම් ගන්න ඕන. **එදා අතීතයේ හිටපු සාමාන්‍ය ජනතාව පැහැදිලි නිවැරදි පිරිසිදු බුදු බණ අහල, කල්‍යාණ මිත්‍ර උතුමන්, ආර්ය උතුමන් ඇසුරු කරල තිබුන නිසා ඔවුන්ගේ අසීමිත බලාපොරොත්තු සීමා වෙලා තිබුනා. ඒ නිසාම ඒ අයට වැඩ කටයුතු අඩුයි. මොනව හරි එදා වේල හොයාගෙන කාල බොහොම සරල චාම් ජීවිත ගත කළේ. ඒ නිසාම ඔවුන්ට කාලය බොහොම ඉතිරි වුනා. ඔවුන් හැම වෙලාවෙම ලෝක සත්ත්වයාගේ යහපත සඳහා ගහක් කොළක් හිටෙව්වා, පාරක් තොටක් සුද්ධ පවිත්‍ර කළා. ඔය වගේ ලෝක සත්ත්වයාගේ යහපත සඳහා මොනවහරි කළා.**

අද වුනත් අපිට පැහැදිලිව පේන්න තියෙනකාරණාවක්තමයි,අතීතයේහිටපු සාමාන්‍ය ජනතාවගේ ගෙයක් දොරක් තිබුන තැනක්වත් අහන්න දකින්නවත් නෑ. කොහේ බැලුවත් පැරණි දේවල් හොයනකොට හමුවෙන්නෙ, එක්කො වෙහෙර විහාරස්ථානවල නටඹුන්, එහෙම නැත්නම් රජ කෙනෙක් හෝ ප්‍රාදේශීය රජ කෙනෙක් හිටපු මාලිගාවක අත්තිවාරමක්. ඔය වගේ දෙයක් තමයි දකින්න ලැබෙන්නෙ. ඒ කියන්නෙ, දහම් අවබෝධයෙන් කටයුතු කරන කාලවල මිනිස්සුන්ට ලෝකයේ වටින දේවල් නෑ. ලෝකෙ අසාරත්වය දහම තුලින් දැකල ඉවරයි. ඒ නිසාම තමයි රජ ගෙවල් සහ වෙහෙර විහාරස්ථාන ආදිය විතරක් කාලයක් පවතින්න විසාලව ශක්තිමත්ව හදන්නෙ. මොකද වැඩිපුර රටේ ජනතාව එකතු වෙන ස්ථාන නිසා. එදා අතීතයේ හදපු වැව් අමුණු, වෙහෙර විහාර, දා ගැබ්, පිළිම දිහා බැලුවම අපිට වැටහෙනවා, අහස උසට ඒ තරම් ශක්තිමත්ව, කල් පවතින්න ඒ වගේ වෙහෙර විහාර ඉදි කරන්න නම් මොන තරම් කැප කිරීමක්, වෙහෙස මහන්සියක්, මිනිස් ශ්‍රමයක් ලබා ගන්න ඇත්ද කියල. ඒ වගේම මොන තරම් හික්මීමක් තියෙන්න ඕනද කියල.

අද කතා කළොත් වැඩිපුර දෙනෙක් කියන්නෙ, අනේ අපිට පන්සල් යන්න, බණ අහන්න, භාවනා කරන්න, පොදු කටයුත්තකට උදව්වක් උපකාරයක් කරන්න නිවාඩුවක් නෑ මොනව කරන්නද... මේ ආදී වශයෙන්. එදත් ඒ හිටිය උදවිය අද වගේ කිව්ව නම්, ආත්මාර්ථකාමීව කටයුතු කළා නම් රට තොට කොහොම තියෙයිද? **සද්ධර්මය යටපත් වුන කාලවලදී දකින්න තියෙන දෙයක් තමයි, බොහෝ දෙනා වැඩක් නැති නිෂ්ඵල දේවල්වලට කාලය, ශ්‍රමය, ධනය වැය කිරීම.** ලෝභ, ද්වේශ, මෝහ වැඩි වෙන ආකාරයට තමයි කටයුතු කරන්නෙ. වර්තමාන සමාජය දිහා බැලුවම ඒ කාරණය හොඳට පැහැදිලි වෙනවා. ඒත් එදා අතීතයේ හිටපු බොදු පිරිස එහෙම නෙවෙයි. අද ඉන්න අයට වඩා ගොඩක් වෙනස්. ඔවුන්ට වැඩක් නැති වැඩ, නිෂ්ඵල වැඩ, ලෝභ ද්වේශ මෝහවලට අදාළ වැඩ අඩුයි. ඒ නිසාම ඔවුන්ට කාලයත් බොහොම ඉතිරියි. ආර්ථික වශයෙන් මහා ධනස්කන්ධයක් නැති වුනාට, මානසික වශයෙන් මහා සහනයකින් වගේම සතුටින් ධාර්මිකව කටයුතු කරන ගමන් ධර්ම මාර්ගයත් පූර්ණ කරගන්න කටයුතු කළා.

කොහොම වුනත් සාමාන්‍ය ජනතාවට ලොකු මුදලක් වියපැහැදම් කරන්න ආර්ථික වශයෙන් හැකියාවක් තිබුනෙ නෑ. වැඩිපුර යමක් කමක් තිබුන නම් තිබුනෙ, එදා හිටපු රජවරුන්ට සිටුවරුන්ට විතරයි. ඒ අයත් දහම් මාර්ගය පිළිබඳව අවංකවම දැන හඳුනගෙන කටයුතු කළ නිසා, අනවශ්‍ය දේවල්වලට වියදම් නොකර, ඔවුන් ප්‍රධානත්වය අරගෙන වෙහෙර විහාර, ළිං, පොකුණු, වැව්, අමුණු... ආදිය ඉදි කළා. ජේතවනාරාමය, පූර්වාරාමය වගේ විහාරස්ථාන ගැන හිතනකොට ඒ බව පැහැදිලියි. බොහෝ දුරට මූලික වශයෙන් ධනය වියපැහැදම් කරල පෞද්ගලිකව විහාරාරාම, ළිං, පොකුණු... ආදිය ඉදි කරල බුදු පාමොක් මහ සඟනට පූජා කළ බව සඳහන් වෙනවා. බුදු පියාණන් වහන්සේ, මහ රහත් උතුමන් වහන්සේලා ඇතුළු සෙසු භික්ෂූන් වහන්සේලා ඒවා පරිහරණය කරමින් ලෝක සත්ත්වයාගේ යහපත සඳහා කටයුතු කරල තියෙනවා.

සාමාන්‍ය ජනතාවට වෙහෙරක් විහාරස්ථානයක් හදාගන්න වත්කමක් නැති නිසා, මහා සංඝ රත්නයේ උපදෙස් ඇතිව ඒ වගේ පිංකම්වලට අත හිත දී ගන්න අවස්ථාව සලසල දීල තිබුනා. ඒ නිසා සාමාන්‍ය ජනතාව විහාරස්ථානයට එනකොට පඬුරක් වශයෙන් ඒ කාලෙ තිබ්බ මුදල්වලින් පුංචි කාසියක් දෙකක් ගෙනත්, සාසනය වෙනුවෙන් ගරු උපහාර පූජාවන් වත්පිළිවෙත් සපුරල, සාසන ආශිර්වාදය ප්‍රාර්ථනා කරල, තුනුරුවන්ගේ ගුණ සිහි කරල, පුංචි රෙදි පටියක් අරගෙන අර පුංචි කාසිය දෙක ඔතන ගමන් තමන්ට අවශ්‍ය කරන කාරණාවත් සිහිපත් කරල විහාරස්ථානයේ



දෙළොස් මහේ පහන් පූජාව ඇතුළු විශේෂ සෙත් බුද්ධ පූජාවක් අතරතුරදී

ගැලපෙන ස්ථානයක ඒ පඬුර ගැට ගහල යනවා. කාලයක් යනකොට භික්ෂූන් වහන්සේලාගේ උපදෙස් ඇතිව අර පුංචි කාසිය දෙක එකතු කරල, ඒ සඳහා ගැලපෙන අය ඉදිරිපත් වෙලා ඒ පඬුරු භික්ෂූන් වහන්සේලා වැඩ ඉන්න විහාරස්ථානය ප්‍රතිසංස්කරණය කිරීමේ කටයුතුවලට යොදවනවා. ඒ වගේම භික්ෂූන් වහන්සේලාගේ සිවුපසය සඳහාත් යොදවන්නෙ ඒ විදිහට එකතු කරන, එහෙම නැත්නම් පඬුරු ගැට ගහල එන පුංචි මුදල එකතු කරල තමයි. **පඬු කියන්නෙ ප්‍රතිසංස්කරණය, උර කියන්නෙ උර දෙනවා. ප්‍රතිසංස්කරණය සඳහා උර දෙනවා කියන එක තමයි පඬුරු කියන්නෙ.**

ඉතින් භික්ෂූන් වහන්සේලාත් කමටහන් වඩාගෙන, වත් පිළිවෙත් සිද්ධ කරගෙන, ලෝක සත්ත්වයාට මෙත් සිත පතුරවමින් පින් අනුමෝදනාවන් කරමින් තමන්ගෙ සාසනික වැඩ කටයුතු කරගන්නවා. එබඳු අවස්ථාවල පින් අනුමෝදන් කරනකොට ආරාමෙ හදපු කෙනාට වෙනමයි, වැඩිපුර මුදල් විය පැහැදම් කරපු කෙනාට වෙනමයි, පුංචි මුදලකින් ආධාර කරපු අයට වෙනමයි කියල මෙත් වඩන්නෙවත් පින් අනුමෝදන් කරන්නෙවත් නෑ. භික්ෂූන් වහන්සේලා ඒ සිව්පසය පරිහරණය කරන ගමන් සියලු ලෝක සියලු සත්ත්වයන්ට වහ වහා දහම් අවබෝධ කර ගන්න, සුඛිත මුදිත භාවයට පත් වෙන්න ආශිර්වාද කරනවා, පින් අනුමෝදන් කරනවා. එතකොට ඒ ආධාර උපකාර කළ අය මොන ලෝකෙක කොතැනක හිටියත් ඒ අයට ඒවායේ හිමිකම අයිතිය ලැබෙනවා. ඒ අය ඒ පින්කම්වල කොටස්කරුවො වෙනවා. ඒ හේතුවෙන්ම ඒ ඇත්තන්ට මෙලොව පරලොව නිවන් කියන තුන් අභිවෘද්ධිය ලබාගන්න හේතු වාසනා ලැබෙනවා... මේ විදිහට පඬුරු ගැට ගැසීමේ ඉතිහාසය ගැනත් දීර්ඝ විස්තරයක් කරල අබේරත්න උපාසක මහත්තය මෙහෙම කියනවා.

මේ හේතු නිසා මමත් ලෝක සත්ත්වයාට සියලු යහපත සඳහා මේ පඬුරු ගැට ගැසීම ආරම්භ කළා. මේ ස්ථානයට යන එන අය දැන් තරමක් දුරට දැනුවත් වෙලා ඉන්නෙ. මමත් ඉතින් ආශිර්වාද සෙත් බුද්ධ පූජාව පවත්වන ස්ථානයේ විශේෂ ධර්ම චක්‍ර සංකේතයක් සකස් කරල තියල තියෙනවා. මම මෙහාට යන එන අයට කියල තියෙනවා, ඔය ඇත්තන්ගෙ යහපත් කටයුතු, ධාර්මික කටයුතු සාර්ථක වෙන්න කියල, සාසන ආශිර්වාදය ලැබෙන්න කියල ප්‍රාර්ථනා කරල පඬුරක් ගැට ගහල යන්න කියල. මේ ස්ථානයේ සිද්ධ කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා වන්දනාමාන පූජා සත්කාරවලට සහභාගි වෙලා, සදේවක ලෝකයාම සිහි කරල පින් පෙත් අනුමෝදන් කරල අවසන් වුන මොහොතෙම තමයි පඬුරු ගැට ගහන්න ඕන. ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වුනාම සාසන ගුණ පිළිබඳව බොහොම පැහැදීමෙන් චිත්ත ප්‍රසාදයෙන් තමයි ඒ වෙලාවෙ ඉන්නෙ.

ඒ නිසා ඒ **සෙත් බුද්ධ පූජාව පවත්වල අවසන් වුන මොහොතෙම, බාහිර දේවල් පිළිබඳව කතා බහ නොකර, ඒ දහම් සමාධියෙන් ඉන්න වෙලාවෙම තමන්ගෙ හිත දූෂ්‍යතාවයට ලක් වෙන්න පෙර පඬුරු ගැට ගහන්න පුළුවන් නම් වඩා හොඳයි.** ඒ අවස්ථාවෙම පඬුරු කාසිය අතේ තියාගෙන පුංචි රෙදි පටි කැබැල්ලක ඔතල ගැටයක් දමල ඒ ස්ථානයේම ගැලපෙන තැනක ගැටගහනකොට ඒකටත් යම් කිසි කාලයක් ගත වෙනවා. ඒ වෙලාවෙදි තමයි තමන් බලාපොරොත්තු වෙන යහපත් අධිෂ්ඨානය කරන්න ඕන. ඒ පඬුරු ගැට ගහන අවස්ථාවෙදි ගොඩක් දේවල් හිතන්න හොඳ නෑ. මොකද අළුත් අයට මේවා පැටලෙන්න පුළුවන්. මේ ස්ථානයේ පඬුරු ගැට ගැහුවම ක්ෂණිකවම ක්‍රියාත්මක වෙනවා. ඒ නිසා තමයි හොඳ කල්පනාවෙන් පඬුරු ගැට ගහන්න කියන්නෙ. සමහර අය වරදවා කටයුතු කරපු අවස්ථාත් තියෙනවා.

පඬුරු ගැට ගහල බලාපොරොත්තු ඉෂ්ට වෙච්ච නිසා සමහර අය මේ ස්ථානයට ඇවිත් පළවෙනි දවසෙම බණ අහල ධර්ම සාකච්ඡා කරල බොහොම පැහැදීමට පත් වෙනවා. ලෝකෙ අසාරත්වය පැහැදිලි කරල දෙනකොට, පෙර නොඇසූ විරූ දහමක් දැනගන්න ලැබෙනකොට, අනේ අපි මොනවද මේ කරන්නෙ, අසාර ලෝකෙ පෙළෙන ලෝකෙ හොඳයි කියන්න, මම කියන්න, මට කියන්න, මගේ කරගන්න මොනවද තියෙන්නෙ? අනේ වටිනව කියන්න දෙයක් නැහැනෙ! එහෙනම් මොනවද මට කරන්න තියෙන්නෙ... මේ ආදී වශයෙන් එක පාරටම අදහස් එනකොට අත්හැරීම නොඇල්ම මිදීම මිසක් වෙන කරන්න දෙයක් නැති බව දකිනවා. ධර්මය ශ්‍රවණය කිරීම තුලින් යම් තරමක් දුරට හෝ අත්හැරීමක් නොඇල්මක් මිදීමක් ඇත්ද ඒක නිවන බව දකිනවා. සියල්ලෙන් සියල්ල සංසිඳීමක් ඇත්ද ඒක පූර්ණ නිවන බව තේරුම් අරගෙන දැනගෙන, ඒ ශාන්තියට පත්වෙන්න තියෙනව නම් මොන තරම් අස්වැසිල්ලක්ද සැනසීමක්ද කියල හිතල, එක පාරටම බෝධීන් වහන්සේ ළඟට ගිහින්, එහෙම නැත්නම් විහාර මන්දිරයට ගිහින්, අනේ මට මේ සියල්ල අත්හැරල නිවන් පූර්ණ කරගන්න අද අදම හේතු වාසනා ලැබේවා කියල පඬුරු ගැට ගහනවා.

ඒ පින්වතුන් ධර්ම සාකච්ඡා කරල බණ අහල ලෝකෙ ඇත්ත දැන ගත්ත තමයි. ඒක බොරුවක් නෙවෙයි. ඒ වුනාට සියල්ල අත්හැරල දාල එදා දවසෙ විහාරස්ථානයේ ඉඳගෙන බණ ඇහුවට හැමදාම විහාරස්ථානයේ ඉන්න බෑ. එදා දවසෙ වැඩසටහන් අවසන් කරල අකමැත්තෙන් හරි ගෙදර එනවා. ඇවිත් දවසින් දවස කාලය ගත වෙනවා. අහගත්ත ඇත්ත, දැන ගත්ත ඇත්ත කිසිම විදිහකින් බොරු වෙන්නෙ නෑ. ඒ වුනත් දැන් ටිකෙන් ටික බාහිර කටයුතු කරන්න කරන්න තරමක් දුරට ඒ දහම් අදහස් ටික තාවකාලිකව නමුත් යටපත් වෙනවා. ඒ විතරක්

නෙවෙයි, ඒ වගේ හිටපු සමහර තරුණ තරුණියො විවාහ ජීවිතයටත් පත් වෙලා බොහොම කෙටි කාලයයි ගත වෙලා තියෙන්නෙ. හැබැයි එදා ඒ අය ඒ විදිහට පඬුරු ගැට ගැහුවම ඒක ක්‍රියාත්මක වෙන්නෙ ඒ අය කරපු ප්‍රාර්ථනාව අනුව, සාසන ගුණ ඉදිරියේ කරපු අධිෂ්ඨානය අනුව.

එහෙනම් ඒ සියල්ල අත්හැරිල ධර්ම මාර්ගය පූර්ණ කරගන්න, නිවන් දකින්න අද අදම හේතු වාසනා ලැබේවා කියල පැතුව නම්, ඒ පැතුම හරියන්න නම්, සියල්ල අත් හැරෙන්න ඕන. නමුත් ඒ තරුණ යුවළ ගෙදර ගිහින් තම තමන්ගෙ වැඩ කටයුතු කරමින් කාලය ගත කරනවා. ටික දවසක් යනකොට අර කරපු පැතුම අමතකයි. හොඳට රැකී රක්ෂා කරගෙන ගෙවල් දොරවල් හදාගෙන සතුටින් සන්තෝසයෙන් ජීවිතයක් ගත කරන්න තමයි මහන්සි ගන්නෙ. නමුත් ඉතින් පැතුම ඒක නෙවෙයි. එතකොට ඒ පැතුම අනුවද කටයුතු කළේ? නෑ. එහෙනම් අද අදම නිවන් පූර්ණ කරගන්න තම තමන්ට තියෙන බාධාව මොකක්ද? ස්වාමියාට භාර්යාවත්, භාර්යාවට ස්වාමියාත් නිවන් මගට බාධාවක්. එහෙනම් මොකද වෙන්න ඕන? ඒ දෙන්න දෙපැත්තට වෙන්න ඕන. හොඳින් හිටියොත් දෙන්න දෙපැත්තට වෙන්නෙ නෑ. එහෙනම් දෙන්න විරසක වෙන්න ඕන, එපා වෙන්න ඕන, දේපළ නැති වෙන්න ඕන, නෑදෑකම්, හිත මිත්‍රකම් නැතිවෙන්න ඕන. එහෙනම් ඒවා එහෙම වෙනවට අවංකවම තමන් කැමතිද කියල බලන්න ඕන. නමුත් අපි එහෙම වෙනවට කැමති නෑ. දැන් එහෙනම් පඬුරු ක්‍රියාත්මක වුනොත් හොඳද නරකද? හොඳ නෑ. එහෙනම් මොකක්ද අවශ්‍ය? ඒ අයට හොඳට කාල බීල විනෝදෙන් කාලෙ ගෙවන්නත් ඕන. නමුත් එදා පඬුරු ගැට ගැහුවෙ නම් එහෙම ප්‍රාර්ථනා කරල නෙවෙයි. එහෙනම් එබඳු අවස්ථාවල බොහොම කල්පනාවෙන් තමයි අපි පඬුරු ගැට ගහන්න ඕන. පඬුරු ගැට ගහන්න පෙර හොඳට හිතල බලල කල්පනා කරල තමයි ගැට ගහන්න ඕන. මොකද එහෙම නැත්නම් ඊට වඩා ප්‍රශ්නවලට මුහුණ පාන්න වෙනවා. ඒ නිසා මූලික වශයෙන්ම තම තමන්ගෙ අවශ්‍යතාවයන් අවංකවම තම තමන්ම තේරුම් අරගෙන අවබෝධයෙන් යුතුවම සාසන ආශිර්වාදය ලබා ගන්න පඬුරු ගැට ගහන්න ඕන. මේ විදිහට අබේරත්න උපාසක මහත්තය පඬුරු ගැට ගැසීම ගැන දීර්ඝ විස්තරයක් කළා.

අපිත් ඉතින් වහරක අබේරත්න උපාසක මහත්තය ඒ කාලෙ ආශිර්වාද සෙත් බුද්ධ පූජා පවත්වන දවස්වල බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා අවසානයේ බෝධීන් වහන්සේ ළඟ තියල තියෙන ධර්ම චක්‍ර සංකේතයේ පඬුරක් එහෙම ගැට ගහනවා. අපිට පඬුරු ගැට ගහන්න විශේෂ අවශ්‍යතාවයක් නොවුනත්, සෙසු අයට ආදර්ශයක් වශයෙනුත්, අපිටත් තියෙන යම් යම් බාධා ආදිය දුරු කරගෙන සාසන ආශිර්වාදය ලබා ගන්නත් පඬුරු ගැට ගහනවා. ඔය කාලෙ අපිත් එක්ක එක්තරා ස්වාමීන් වහන්සේ නමක් වැඩ හිටියා. උන්වහන්සේත් අනෙක් අය පඬුරු ගැට ගහනව දැකල ආශිර්වාද බුද්ධ පූජාව තියල අවසන් වුන ගමන් ගිහින් පඬුරු ගැට ගහනවා. උන්වහන්සේ බොහොම හොඳ කෙනෙක්. නිතරම අනික් භික්ෂූන් වහන්සේලාටත් බොහොම ඕනකමින් ගෞරවයෙන් උදව් උපකාර ආදියත් කරනවා. ඔය අතර තරමක් විහිළු තහලු කරමින් කටයුතු කරන තවත් භික්ෂූන් වහන්සේ නමක් හිටියා. උන්වහන්සේ අර පඬුරු ගැට ගහන හාමුදුරුවන්ගෙන් අහනවා, ඇයි අපේ හාමුදුරුවනේ පඬුරු ගැට ගහන්නෙ නිවන් දකින්නද කියල. පඬුරු ගැට ගහන හාමුදුරුවොත් ටිකක් කටකාරයි. ඉතින් එහෙම ඇහුවම උන්වහන්සේ හයියෙන් හිනා වෙලා කියනවා, ඔව් ඔව් නිවන් දකින්න තමයි පඬුරු ගැට ගහන්නෙ, එහෙම නැතිව අපිට ඉතින් නෝනල, දරුවො ඉන්නවැයි කියලද, රැකී රක්ෂා හරියන්න කියලද, අපිට මොනව හරියන්න කියලද පඬුරු ගැට ගහන්නෙ, මම නිවන් දකින්න තමයි පඬුරු ගැට ගහන්නෙ කියල. එහෙම කියල ඒ හාමුදුරුවො පඬුරු ගැට ගහන තැනට ගිහින් අද අදම දහම් අවබෝධ කරගන්න ලැබේවා, ඒ සඳහා තියෙන සියලු බාධක දුරු වේවා කියල හයියෙන්ම කියල පඬුරු ගැට ගහනවා. අපිත් ඉතින් හිනා වෙලා පඬුරක් ගැට ගහල එනවා.

මේ හාමුදුරුවො හැමදාම සෙත් බුද්ධ පූජා පවත්වන දවස්වල ඔය විදිහට ප්‍රාර්ථනා කරල ධර්ම චක්‍ර සංකේතයේ පඬුරක් ගැට ගහනවා. අර තරමක් විහිළු තහලු කරන හාමුදුරුවොත් හැමදාම හිනා වෙලා විහිළුවට වගේ අහනවා, ඇයි අපේ හාමුදුරුවනේ අදත් පඬුරු ගැට ගහන්නෙ නිවන් දකින්නද කියල. එතකොට ඒ හාමුදුරුවො මහා හයියෙන් ශබ්ද නගල කියනවා, ඔව් ඔව් මේ නාකි මම මොනව පතන්නද, මම පඬුරු ගැට ගහන්නෙ නිවන් දකින්න තමයි කියල. දවසක් එහෙම උත්තර දීල උන්වහන්සේ අහනවා, එතකොට අපේ හාමුදුරුවො පඬුරු ගැට ගහන්නෙ මොකටද කියල. එතකොට අර හාමුදුරුවොත් හිනා වෙලා උන්වහන්සේට ටිකක් කිට්ටු වෙලා හෙමිහිට කියනවා, අපිටත් එහෙම තමයි, අපිටත් වෙන කවුරුවත්ම නෑ, අපිත් නිවන් දකින්න තමයි පඬුරු ගැට ගහන්නෙ, එතකොටවත් අපිට නිවන් දකින්න පුළුවන් වෙයිද කියල බලන්න තමයි මම පඬුරු ගැට ගහන්නෙ කියල.

ඉතින් ළඟ පාත ඉන්න අයත් උන්වහන්සේලාගේ කතා දිහා හිනා වෙලා බලාගෙන ඉන්නවා. කොහොම හරි අර හාමුදුරුවො ඔය විදිහට දවස් කිහිපයක්ම පඬුරු ගැට ගහනවා අපිත් දැක්කා. ඔහොම ගිහින් ටික දවසක් යනකොට මේ හාමුදුරුවො වැඩ හිටිය ආරාමෙ දායක පින්වතුන් සහ භික්ෂූන් වහන්සේලා අතර යම් යම් හිත් අමනාපකම් ඇතිවෙලා ඒවා දුර දිග ගිහින් පසුව කෙටි කාලයක් ඇතුලත උන්වහන්සේට සියල්ල අත්හැරල එතැනින් අයින් වෙලා යන්න සිද්ධ වුනා. හැබැයි ඉතින් ඒ කාලෙ හිටිය හුඟ දෙනෙක් දැනගෙන හිටියා, එහෙම වෙන්න හේතු වුනේ ඇයි කියල. අද අදම නිවන් පූර්ණ කරගන්න ලැබෙන්න කියල පඬුරු ගැට ගැහුවා. ඒවා ඒ විදිහටම බලාපොරොත්තු වෙච්ච විදිහටම ඉෂ්ට සිද්ධ වුනා.

මේ නිසා අපි දකින්න ඕන නිවන් මගට බාධා මොනවද කියල. දහම් පාසල් පැවැත්වීම, සමිති සමාගම් පැවැත්වීම, ගෙවල් ගානෙ ගිහින් ආධාර එකතු කිරීම, ගොඩනැගිලි හද හදා වඩු බාස්ලා මේසන් බාස්ලා හොයමින් මේ ආදී වශයෙන් අනවශ්‍ය විදිහට සීමාව ඉක්මවල බාහිර කටයුතුවල යෙදීම ආර්ය මාර්ගයට බාධා බව දකින්න ඕන. භික්ෂූන් වහන්සේලාට ඊට වඩා කළ යුතු වැඩ කටයුතු මේ සාසනය තුල තියෙනවා. ඒ තමයි වහ වහා ආර්ය අෂ්ටාංගික මාර්ගය අනුගමනය කරල නිවන් පූර්ණ කර ගැනීම. ඒ නිසා තම තමන් තම තමන්ට අයිති ගැලපෙන කටයුතු තෝරගෙන බේරගෙන කළ යුතුයි.

වැඩිහිටියන් අනුභව කරන අල බතල, මඤ්ඤොක්කා... ආදිය කිරි බොන දරුවන්ට දුන්නම අපත්‍යයි. කිරි දරුවන්ගෙ කිරි ආහාර වැඩිහිටියන්ට දුන්නම වැඩිහිටියන්ට අපත්‍යයි. ඒ නිසා තම තමන්ට අයිති ආහාර තම තමන් ගන්න ඕන. එහෙම නැත්නම් ඒක අපත්‍යයි, ප්‍රත්‍ය

වෙන්නෙ නෑ, දිරවන්නෙ නෑ. ඒ වගේම තමයි තම තමන්ට අයිති තම තමන්ට ගැලපෙන වැඩ කටයුතු තම තමන් කළ යුතුයි. නැත්නම් ඒවත් අපත්‍යයි. අර හාමුදුරුවන්ගෙ නිවන් මාර්ගයට තිබුන බාධාව තමයි බාහිර අනවශ්‍ය වැඩ. ඒ සියල්ල අර පඬුරු ගැට ගැසීම තුලින් අත් හැරුනා. හැබැයි දායක අය හොඳට හිටිය නම්, වෙනද වගේම සළකගෙන හිටිය නම් අනවශ්‍ය වැඩ අත්හැරෙන්නෙ නෑ. ඒ නිසාම ඒක නිවන් මගට බාධාවක්. ඒ නිසා උන්වහන්සේ හිතපු කියපු ආකාරයටම පඬුරු ක්‍රියාත්මක වුනා. නමුත් ඉතින් ඒ විදිහට සියල්ල අත්හැරුන එකට, තමන්ට අහිමි වුන එකට උන්වහන්සේ කැමති නෑ.

අපි ඉතින් මේ සිදුවීම අබේරත්න උපාසක මහත්තය එක්ක ධර්ම සාකච්ඡා කර කර ඉන්න වෙලාවක කිව්වම, එතුමා අපිට මෙහෙම කියනවා. ඉතින් හරිනෙ! උන්වහන්සේ හිතපු කියපු විදිහටම පඬුරු ක්‍රියාත්මක වුනානෙ! එහෙම තමයි වෙන්න ඕන. අපි කියන්නෙත් ඔක තමයි. තමන්ගෙ යහපත් බලාපොරොත්තු ඉටු වෙන්න පඬුරු ගැට ගහන්න කියනවා. ඉතින් ඒ විදිහටම ඒවා ඉෂ්ට සිද්ධ වුනා. ඉතින් හරිනෙ! ඒක නේ වෙන්න ඕන. මේ විදිහට එතුමා අපිත් එක්ක කිව්වා. මම මේ සිදුවීම කිව්වෙ, පඬුරු ගැට ගහනකොට තම තමන් දැනුවත් වෙලාම ගැට ගහන්න ඕන කියන කාරණයට පුංචි සාක්කියක් විදිහට. එහෙනම් අපි ඊළඟට දැනගන්න ඕන, සාසන ආශිර්වාදය ලබා ගන්න පඬුරු ගැට ගහන ආකාරය. ඒකත් අබේරත්න උපාසක මහත්තය අපිට ඒ කාලෙම කියල දීල තිබුනා.

මූලික වශයෙන් අපි පූජනීය ස්ථානයකට ගියාම අවස්ථානුකූලව ආගමික වතාවත්වල යෙදෙන්න ඕන. මොකද අපි නිතරම කටයුතු කරන්නෙ ලෝභ, ද්වේශ, මෝහවලින් යුක්තව. අපි ආගමික පරිසරයක ආගමික වත්පිළිවෙත්වල නිරත වෙනකොට බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ සිහි කරනකොට, අපිට යම් කිසි සුද්ධ මානසිකත්වයක් ගොඩ නගා ගන්න පහසුයි. ඒ නිසා අනවශ්‍ය බාහිර වැඩ කටයුතු අඩු කරල සාසනික කටයුතුවල නිරත වෙන ගමන්, යම් තරමකට හෝ ප්‍රසන්න සිතින් යුක්තව දෙවියන් සහිත සදේවක ලෝකයාටම, මේ සඟරාවෙ මීට පෙරත් සඳහන් කරල තියෙන ආකාරයට පින් අනුමෝදනාවක්



එදා ගිජිදුගම ශෛල පබ්බතාරාමයේ පඬුරු ගැට ගැසූ ධර්ම චක්‍ර සංකේතය

කෙටියෙන් හෝ සිද්ධ කරල අවසන් වුන මොහොතෙම පඬුරක් අරගෙන, තමන්ට අවශ්‍ය කාරණාව කියල පුංචි රෙදි පටියක ගැට ගහල යම් කිසි අධිෂ්ඨානයක් කරල පඬුර ගැට ගහන්න ඕන. ඒක පුළුවන් තරම් කෙටියෙන් සිදු කිරීම පහසුයි. මොකද ගොඩක් දේවල් හිතන්න කියන්න ගියාම පැටලෙන්න පුළුවන්. තමන්ට අවශ්‍ය කාරණාව අනුව පඬුර ගැට ගහන්න ඕන.

අපි හිතමු අළුතින් ආවාහ විවාහ කටයුතුවලට පත් වෙච්ච යුවළක් පඬුරු ගැට ගහනව කියල. එතකොට ඔවුන් පඬුර ගැට ගහන්න ඕන, **අනන්ත ගුණ ඇති තුනුරුවන්ගේ අසීමිත ගුණ බලයෙන් සාසන ආශිර්වාදයේ රැකවරණයෙන් සමගියෙන් සමාදානයෙන් කටයුතු කරන්නත්, ඥානවන්ත ගුණවන්ත නැණවන්ත දුවා දරුවන් ලැබිල සාසනයට රටට ජාතියට ගමට වැඩදායී පුරවැසියන් බවට පත්වෙන්නත්, තම තමන් කරන කියන රැකී රක්ෂා කටයුතු සිදු කරන තැන්වල සහ ගෙදර දොරේදීත් සමගි සම්පන්නව කටයුතු කරන්නත්, උතුම් ධර්මාවබෝධය ලැබීම සඳහාත් හේතු වාසනා වේවා, ඒ සඳහා සාසන ආශිර්වාදය රැකවරණය ලැබේවා** කියල. ඒක තමයි ඒ අයට අවස්ථානුකූලව වඩාත් සුදුසු. එහෙම නැත්නම් තමන්ගෙ චරිත ස්වභාවය අනුව තමන්ම ඒ කාරණය තීරණය කළ යුතුයි.

ගිහි පැවිදි සියලු දෙනාටම අත්‍යවශ්‍ය පොදු දේවල් තමයි, **තම තමන් ඉන්න තැන්වල ඇසුරු කරන අය එක්ක සමගියෙන් සිටීම, නිරෝගී භාවය ලැබීම, කරන කියන යහපත් ධාර්මික කටයුතු බාධාවලින් තොරව කරගෙන යන ගමන් නිවන් මාර්ගය පූර්ණ කරගන්න ලැබීම...** මේ ආදී කාරණාවන්. මේ කාරණා ටිකට හැමෝම කැමතියි. සාසන මාර්ගයේ ගමන් කරන හැමෝගෙම බලාපොරොත්තුවත් ඒකයි. ඒ නිසා ඒ කාරණාත් ඉටු කරගන්න ගමන් නිවන් මාර්ගය පූර්ණ කර ගැනීම තමයි වැඩි දෙනෙකුගේ අදහස සහ බලාපොරොත්තුව. ඒ නිසා පඬුරු ගැට ගහනකොට ඉහත කියපු කාරණා සඵල වෙන්න සාසන ආශිර්වාදය ලැබෙන්න කියල පඬුරු ගැට ගහන්න ඕන.

හැබැයි සමහර කෙනෙක් ඉන්න පුළුවන්, ඒ කිසිම දෙයක් බලාපොරොත්තු නැතිව නිවන් පූර්ණ කර ගැනීම මුල් කරගෙනම කටයුතු කරන. අවංකවම තමන්ගෙ පැතුම ඒක නම්, ඒ අය විතරක් පඬුරු ගැට ගහන කොට, පෙනෙන නොපෙනෙන සියලු කරදර බාධක දුරු කරගෙන ආර්ය මාර්ගය පූර්ණ කරගන්න සාසන ආශිර්වාදය රැකවරණය ලැබේවා කියල අධිෂ්ඨාන කරල පඬුරු ගැට ගැහුවට කමක් නෑ.

හැබැයි එතකොට තමන්ගෙ සියලු සම්පත් නැති වුනත් ඒකටත් කැමති විය යුතුයි. මොකද මේ ලෝකෙ ඉන්න අය යමක් බලපොරොත්තු වෙනවද, ඒ සියල්ල නැතිවෙන එක, එහෙම නැත්නම් මනසින් අත්හරින එක තමයි නිවන කියන්නෙ. අසංඥ සමාධිය වඩන එක නෙවෙයි මේ කියන්නෙ. භෞතික වශයෙන් සියලු සම්පත් අහිමි වුනත් ඒකටත් කැමති වෙන්න ඕන. නමුත් ඉතින් නිවන් දකින්න ඕන කියල කෑ ගැහුවට වැඩි දෙනෙක් බලාගෙන ඉන්නෙ, අනික් අයට බණ කියන්න, වෙහෙර විහාර හදන්න, ගෙවල් දොරවල් ඉඩකඩම් වවන්න හදන්න, විසාල පිරිසක් එක්ක කටයුතු කරන්න... මේ වගේ ලෞකික බලාපොරොත්තු තමයි වැඩි දෙනෙකුට තියෙන්නෙ.

එහෙම හිතාගෙන, අද අදම නිවන් සැප ලැබේවා කිව්වට ඒ සියල්ල නැති වෙනවට වැඩි දෙනෙක් කැමති නෑ. ඉතින් පඬුරු ගැට ගැසීම සහ බලාපොරොත්තුව අතර පරස්පරයක් ගොඩ නැගෙනවා. ඒ නිසා බැරි දේවල් බොරුවට කියනවට වඩා අවංකවම තමන්ට පුළුවන් දෙයක් විතරක් ප්‍රාර්ථනා කිරීම / අධිෂ්ඨාන කිරීම වටිනවා. නමුත් එහෙම කරන්න පුළුවන් අය ඒ විදිහට පඬුරු ගැට ගහල සියලු බලාපොරොත්තු අත් හැරල, මේ ජීවිතයේම මම මගේ කටයුතු සියල්ල පූර්ණ කරගන්නවා කියන අදහසින් කටයුතු කරන්න ඕන. එක පාරටම එහෙම කරන්න බැරි අය මුලින් සඳහන් කළ ආකාරයට කටයුතු කරන්න ඕන.

හැබැයි ඒ කාරණය වැරදියට තේරුම් ගන්න හොඳ නෑ, එහෙනම් දැන්ම නිවන් පූර්ණ කරගන්න ඕන නෑ කියල. මේ දහම අහල හොඳ පැහැදිලි අවබෝධයක් අත්දැකීමක් තියෙන අය හැකි ඉක්මනින් නිවන් පූර්ණ කරගන්නම තමයි කටයුතු කරන්න ඕන. නමුත් තවම හරියට අවබෝධයක් නැති, මග වැඩිල නැති අය තම තමන්ගේ බලාපොරොත්තු මට්ටම් අනුව ඉහත ආකාරයට කටයුතු කරන්න ඕන.

කොහොම කටයුතු කළත් සමගිය සමාදානය, නිරෝගී භාවය, මෙලොව පරලොව නිවන් අභිවෘද්ධිය කියන මේවාට අපි හැමෝම කැමතියි. ඒ නිසා විශේෂයෙන් ගිහි පින්වතුන් ලෞකික අභිවෘද්ධියත් සලසගෙන යන ගමන් නිවන් මාර්ගය පූර්ණ කර ගැනීම සඳහාත් කටයුතු කරන්න ඕන. එතකොට දූ දරුවන්ගේ අභිවෘද්ධියත් සැලසිලා තමන්ගෙ ලෞකික කටයුතුත් තරමක් දුරට හරි විසඳගෙන නිවන් මාර්ගය පූර්ණ කරගෙන යන්න තමන්ට අමාරුවක් අපහසුවක් නෑ. ඒ නිසා දැනුවත් භාවයට පත් වෙලාම පඬුරු ආදිය ගැට ගැසිය යුතුයි.

අපි පුංචි රුපියලක් දෙකක් ගත්තම, ඒ පුංචි මුදලක් නිසා අපිට ඒ මුදල පිළිබඳව සියලු බලාපොරොත්තු අත්හැරල තමන්ගෙ අයිතියෙන් නිදහස් කරන්න පුළුවන්. ඒ විදිහට පඬුරක් අරගෙන විහාරස්ථානයකට ගිහින් ආගමික වත්පිළිවෙත් ඉටු කරල ගැලපෙන සුදුසු තැනක ගැට ගැහුවම, භික්ෂුන් වහන්සේලා හෝ ඊට ගැලපෙන කෙනෙක් ඒ පුංචි පඬුරු ටික එකතු කරල විහාරස්ථානයේ ප්‍රතිසංස්කරණ කටයුතුවලට, එහෙම නැත්නම් භික්ෂුන් වහන්සේලාගේ සිව්පසය සඳහා යොදවන්න ඕන. ඒ විදිහට අලුත්වැඩියා කටයුතු සඳහාත්, සිව්පසය සඳහාත් යෙදෙව්වම ඒ පූජනීය ස්ථානයේ දවසකට කිහිප වතාවක්ම පුද පූජා පවත්වල සදේවක ලෝකයාටම පින් අනුමෝදන් කරනවා. විසාල වශයෙන් උදව් උපකාර කරපු කෙනාටත්, පුංචි පඬුරකින් ආධාරයක් කරපු කෙනාටත් මේ සියලු දෙනාටම තමයි දිනපතා පින් අනුමෝදන් කරන්නෙ. එතකොට පුංචි පඬුරක් ගැට ගහපු කෙනාට මාසයක් විහාරස්ථානයට යන්න බැරි වුනත්, ඒ මාසය පුරාම දිනපතා කරන සියලු පින් අනුමෝදනාවලට හිමිකාරයෙක් වෙනවා. ඒ විදිහට දිනපතාම ආශිර්වාද කිරීම නිසා, පින් අනුමෝදන් කිරීම නිසා, පුංචි පඬුරකින් හරි සම්බන්ධ වුන නිසා, ඒ අනුමෝදනාවට විශේෂ හිමිකමක් ඇති නිසාම, තම තමන්ගේ කටයුතු සාර්ථක කර ගන්න විශේෂ උපකාරයක් වෙනවා. ඒ නිසා තමන්ට කරදර බාධා එනකල්ම බලාගෙන ඉන්න ඕන නෑ. සාසනික කටයුතු කරන විශේෂ තැනකට ගියාම සැදැහැ සිතින් පඬුරක් ගැට ගැසීම විශේෂයක් වෙනව වගේම, දිනපතා පින් ලැබෙන මහා පින්කමකුත් වෙනවා.

අද බොහෝ දෙනෙක් පඬුරු ගැට ගහනව කිව්වම එක පාරටම අදහසක් ගන්නවා, බාරයක් වෙනවා, පූජා වට්ටියක් තියනවා, බෝධි පූජාවක් තියල දෙවියන්ට පින් දෙනවා, පුංචි සමාධි ප්‍රතිමාවක් ගෙනත් දෙනවා, මම අරවා දෙනවා මේවා දෙනවා කියල. එහෙම කියල තමයි අද හුග දෙනෙක් පඬුරු ගැට ගහන්නෙ, බාරහාර වෙන්නෙ. නමුත් ඉතින් බෝධි පූජාවක් තියල දෙවියන්ට පින් දෙන්න බාර වෙන්න ඕනද?

ඉස්සර පඬුරු ගැට ගැහුවෙ සාසන ආශිර්වාදය ලබා ගන්නත්, සාසන අභිවෘද්ධිය සඳහාත් තමයි. අද ඒවා ටිකෙන් ටික වෙනස් වෙලා ගිහින් පඬුරු ගැට ගැසීම වෙනස් වෙලා. ලෙහෙසියටත් පහසුවටත්, පඬුරු ගැට ගැසීම වෙනුවට පිං කැටයක් තියල තියෙනවා. කවුරු හරි කෙනෙක් පන්සලට ගියාම රුපියලක් දෙකක් පිං කැටයට දාල එනවා. හරියට තමන්ගෙ දෙයක් ඔහේ විසි කරල දමල එනව වගේ. ඒ වගේ ක්‍රියාවක් තුලින් සාසනය කෙරෙහි තියෙන ශ්‍රද්ධාව ගෞරවය යම් මට්ටමකට අඩු වෙනවා. නමුත් එහෙම නිකම්ම පසුම්බියෙන් කාසියක් දෙකක් ඇදල අරගෙන පින් කැටයට දානවට වඩා, ඒක ජලයෙන් පිරිසිදු කරල සුදු රෙදි පටි කැබැල්ලක ඔතල ගෞරවනීය විදිහට බෝධීන් වහන්සේ ළඟ හෝ ඒ සඳහා තියෙන සුදුසු ස්ථානයක ගැට ගහන්න පුළුවන් නම් ඒක වඩා හොඳයි. එතකොට ඒක දකින පන්සලට යන එන පින්වතුන්ගෙ චිත්ත ප්‍රසාදයක් එනවා අපිත් සාසනයට දායක වෙන්න පඬුරක් ගැටගහන්න ඕන කියල.

හැබැයි එහෙම පඬුරක් ගැටගහන්න තරම් සුදුසු වෙලාවක් තැනක් තිබුනෙ නැත්නම්, අවස්ථානුකූලව පඬුරු අධිෂ්ඨාන කරන ක්‍රමයක් තියෙනවා. සමහරවිට රෝහලක ලෙඩෙක් ඉන්න පුළුවන්. එතකොට පන්සලකට ගිහින් පඬුරක් ගැටගහන්න තරම් වෙලාවක් නැත්නම්, රෙදි පටි කෑල්ලකුත් නැත්නම්, තමන් ළඟ තියෙන කාසියක් දෙකක් අරගෙන කාරණය කියල අර විදිහටම අධිෂ්ඨාන කරල ඒ පඬුර වෙන් කරල තියල කවදහරි දවසක තමන්ට ඉඩකඩ ලැබුන වෙලාවක විහාරස්ථානයකට ගිහින් ඒ අධිෂ්ඨානය නැවත සිහි කරල පින් කැටයට දාන්නත් පුළුවන්. ගැට ගහන්න අවස්ථාවක් නැත්නම් අර විදිහට ගෞරවයෙන් පින් කැටයට දැම්මම කිසි අඩුවක් නෑ. හැබැයි පඬුර අධිෂ්ඨාන කරල වෙන් කළාට පස්සෙ ඒක වෙනත් කිසිම ගිහි කටයුත්තකට පාවිච්චි නොකරන්න වග බලා ගන්න ඕන. එතකල් ඒක තමන්ගෙ ගෙදර බුදු පිළිම වහන්සේ ළඟ හෝ වෙනත් තැනක තැන්පත් කරල වෙනත් කෙනෙකුට ප්‍රයෝජනයට ගන්න බැරි වෙන්න ආරක්ෂා කරල තියන්න ඕන.

ඒ නිසා ඒ වෙනුවෙන් පුංචි කාලයක් මිඩංගු කරල මලක් පහනක් පූජා කරල වතාවත් කරල අලෝභ, අද්වේශ, අමෝහ සිතින් ගෞරවයෙන් පුංචි පඬුරක් ගැට ගැහුවම ඒ මොහොතෙම යම් චිත්ත ප්‍රසාදයකට පත් වෙනවා. තමන් දන්නෙ නැති වුනත් ඒක මහා විශේෂ පින්කමක්. ඒ නිසා තමයි පඬුරු ගැට ගැසීම තුලින් සැහෙන ප්‍රශ්න සමුදායක් විසඳගෙන කටයුතු කරන්න පහසුව ලැබෙන්නෙ. මේවා අතීතයේ තිබුන විශේෂ පින්කම්. ඒත් දැන් වුනත් කරන්න පුළුවන් නම් ටික ටික මතු වෙලා යහපත් සමාජයක් ගොඩ නගන්න විශේෂ හේතුවක් වෙනවා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස

04 කොටස

## මී පැණි පූජාවේ ආනිසංස

ගෞතම බුද්ධ සාසනයේ වැඩ හිටපු අසූ මහා ශ්‍රාවකයෙක් වූ මෝඝරාජ තෙරුන් වහන්සේගේ ථේරාපදානයේ මේ විදිහට සඳහන් වෙනවා. අපරාජිත වූ අත්ථදස්සී බුදු රජාණන් වහන්සේ භික්ෂුන් පිරිවරාගෙන මාර්ගයේ වැඩියා. මම ශිෂ්‍යයන් සමග ගිහින් උන්වහන්සේට වැඳගෙන සිත පහදවාගෙන බුදු රජුන් සමග කතා කළා. බුදු සමිඳුගේ ගුණ වර්ණනා කරල මී පැණි හැළියක් පිළිගැන්නුවා.

අත්ථදස්සී බුදු රජුන් මී පැණි වළඳල අහසට නැගල ආකාසයේ ඉඳගෙන මේ විදිහට දේශනා කළා. බුද්ධ ඥානයේ ගුණ ප්‍රකාශ කළ මොහු ඒ හේතුවෙන් කිසි දවසක දුගතියක යන්නෙ නෑ. 14 වතාවක් සක් දෙව් පදවියත්, අටසිය වරක් පොළවේ රජකමත්, පන්සිය වරක් සක්විති රජකමත්, අප්‍රමාණ සංඛ්‍යාවක් ප්‍රදේශ රාජ්‍යයත් කරනවා.

වේදය ඉගෙන ගෙන ගෞතම බුද්ධ සාසනයේ පැවිදි වෙලා ගැඹුරු නුවණින් යුක්තව මෝඝරාජ නමින් ශ්‍රාවකයෙක් වෙනවා. භව බැඳුම් හැර ආශ්‍රවයන් සිඳ දමා අරිහත්වයට පත් වෙනවා. ගෞතම බුදුන් වහන්සේගේ ශ්‍රාවකයන් අතර රළු සිවුරු දරන්නා වූ භික්ෂුන් අතරින් මෝඝරාජ තෙරුන් අග තනතුර ලබනවා.

## අම්බදායක ථෛරාපදානය

අනෝමදස්සී තථාගතයන් වහන්සේ හිමාල ප්‍රදේශයේ වැඩ හිඳිමින් ලෝකයාට මෛත්‍රිය පැතිරෙව්වා. ඒ කාලෙ මම වඳුරෙක් වෙලා උන්වහන්සේ කෙරෙහි සිත පහදවාගෙන ඒ ප්‍රදේශයේ තිබුන අඹ ගහකින් ගෙඩියක් සහ මී වදයක් උන්වහන්සේට පූජා කළා.

අඹ සහ මී වද පූජා කළ පිනෙන් කල්ප 57 ක් දෙව්ලොවත්, සෙසු කාලවල දෙව් මිනිස් දෙගතියේත් උපන්නා. එයින් හත් දහස් හත්සිය වන කල්පයේ "අම්බට්ට" නමින් දහ හත් වතාවක් සක්විති රජ වුනා. දියුණු කළ නුවණින් දුගතියට නොගිහින් බුදු සසුනේ පැවිදි බව ලැබුවා. බුදු රජුන් මාව දමනය කිරීමෙන් ජය පරාජය දෙකම නැති නිවනට පත් වුනා. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වය පූර්ණ කරගෙන සියලු බන්ධනයන්ගෙන් නිදහස් වුනා. (බන්ධනා පමුත්තෝ)

## මධුපිණ්ඩික ථෛරාපදානය

මහ වනයේ වැඩ සිටි අප්‍රමාණ ගුණ ඇති සිද්ධාර්ථ බුදු රජුන් දැකල මට මහත් ප්‍රීතියක් සහ නුවණක් හට ගත්තා. සමාධියෙන් නැගී සිටි උන්වහන්සේට මම මී පැණි පූජා කරල නැගෙනහිර දිසාවට ගියා. එයින් 36 වන කල්පයේ "සුදස්සන" නමින් රජ පදවි ලැබුවා. දුගතියක නොගිහින් නැවත "සුදස්සන" නමින් හතර වතාවක් සක්විති රජ වුනා. පුණ්‍ය විපාකයෙන් භෝජනවල මී පැණි වැගිරෙනවා. බුදු සසුනේ පැවිදි වෙලා සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව සසර ගමන නිමා කර ගත්තා.

## කොඩි පූජාවේ අනුසස්

ගෞතම බුදු සසුනේ වැඩ සිටිය ධජදායක තෙරුන් වහන්සේ අතීතයේ වැඩ සිටිය තිස්ස කියන සර්වඥයන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ උන්වහන්සේගේ චිතකයට ධජයක් ඔසවා තැබුවා. මැනවින් සිත පහදවාගෙන කළ ඒ පිනෙන් තව්තිසා දෙව්ලොව ඉපදුනා. 300 වරක් දිව්‍ය රාජ්‍යයත්, 500 වරක් සක්විති රාජ්‍යයත් කළා. එදා කරගත්ත කොඩි පූජාවේ විපාක වශයෙන් සතර අපාගත නොවී මේ බුදු සසුනෙදි සිව්පිළිසිඹියා, ෂඩ් අභිඥා සහිතව සියලු කෙළෙස් ප්‍රහීණ කර ගත්තා.

උදා වන්නා වූ සූර්යා වගේ රන්වන් රැස් ඇති හිරු වගේ බබලන තථාගතයන් වහන්සේ හැට අට දහසක් රහතන් වහන්සේලා පිරිවරාගෙන වීථියේ වඩිනවා දැකපු මම උන්වහන්සේලාට වන්දනා කරල ධජයක් නැංවූවා. කොඩියක් පූජා කළ පිනෙන් එතැන් පටන් දුගතියක නොවී සුගති සම්පත්ම ලබමින් එයින් 94 වන කල්පයේ "සුධර" නමින් ප්‍රසිද්ධ රජ කෙනෙක් වුනා. මේ විදිහට සසර සැප සම්පත් ලබල මේ තථාගත සාසනයේ පැවිදි වෙලා ඛීණාශ්‍රව වහන්සේ නමක් බවට පත් වුනා.

ධජදායක තෙරුන්, පදුමුත්තර භාග්‍යවතුන් වහන්සේට ලොව්තුරා බුද්ධත්වයට පත් වෙන්න උපකාර වුන ජය ශ්‍රී මහා බෝධියට කොඩියක් නංවල නිකෙළෙස් තථාගතයන් වහන්සේට වඳිනව වගේ බෝධියට වන්දනා කළා. පදුමුත්තර සර්වඥයන් වහන්සේ භික්ෂුන් මැද මේ විදිහට දේශනා කළා.

මේ කොඩි පූජාව හේතුවෙන් කල්ප ලක්ෂයක් දුගතියකට නොගිහින් දෙව්ලොව දෙව් සැපත්, මිනිස් ලොව රජ සැපත් ලබල "උග්ගත" නමින් සක්විති රජ පදවියත් ලබනවා. මෙයින් පනස් දහස් වන කල්පයේ "මේඝ" නම් රජෙක් වෙලා පැවිදි වෙලා බුදු සසුනේ සිත් අලවා වාසය කරනවා. චතු පටිසම්භිදා සහිතව අරිහත් ඵලයෙන් නිවී සැනසෙනවා.

## පැන් පූජාවේ අනුසස්

කරුණා මෛත්‍රී සිසිල් ජලාසයන්, නව ලෝකෝත්තර ශ්‍රී

සද්ධර්මය නමැති සදහම් අමා පානයන් ලොවට විද්‍යමාන කරමින් විහිදුවා වදාළා වූ භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත ගුණයට ගෞරව උපහාර පූජා වශයෙන් තමයි බුදු රජුන් උදෙසා සිසිල් පැන් පූජා කරන්නෙ. තථාගතයන් වහන්සේ උදෙසා, සංඝ රත්නය උදෙසා යමෙක් පැන් ටිකක් පූජා කළත් ඒක මහා ආනිසංස දායක පිනක් වෙනවා.

අතීතයේ පැන් පූජා කරපු තෙරුන් වහන්සේ නමක් ගැන මේ විදිහට සඳහන් වෙනවා. ලෝක නායක වූ විපස්සී බුදු රජාණන් වහන්සේ අට ලක්ෂයක් මහ රහතන් වහන්සේලා පිරිවරාගෙන විහාරයෙන් පිටත් වෙලා වඩින කොට ඒ කාලෙ තාපසයෙක් වෙලා හිටපු මම වණුක් මල් වතුර අරගෙන බුදු රජුන් සමීපයට ඇවිත් ප්‍රසන්න සිතින් ඒ වණුක් මල් වතුර බුදු රජුන් උදෙසා අහසට දැම්මා.

විපස්සී බුදු රජාණන් වහන්සේ මගේ පුණ්‍යකර්මයට ප්‍රසංසා කරල වැඩියා. ඒ සුවඳ පැන් පූජාව හේතුවෙන් දෙදහස් පන්සිය වරක් දෙව් රජකමත්, එපමණම කාලයක් සක්විති රජ සැපත් වින්දා. දෙව්ලොව රජ වුනත් මිනිස් ලොව රජ වුනත් මම "ඵුසිත" නමින් හැඳින් වුනා. කුමන අත්බැවක් ලැබුවත් මගේ හාත්පස බඹයක් පමණ සුවඳ ජල බිංදු වහිනවා.

දුනු 100 ක් දුරට ශරීරයෙන් සඳුන් සුවඳ විහිදෙනවා. ශරීරයෙන් හමන දිව්‍යමය සුගන්ධය ආඝ්‍රහණය කරන මිනිස්සු මට ඵුසිත (දිය බිංදු) කියල කතා කරනවා. අතු, කොළ, තණ, දර... ආදියෙන් මගේ අදහස අනුව සුවඳ විහිදුවනවා. මේ විදිහට සුවඳ පැන් පූජාවේ පිනෙන් දුගතියක ඉපදෙන්නෙ නැතිව මේ බුදු සසුනේ සදහම් අමා පැන් පානය කරල කෙළෙස් දාහය නිවා ගත්තා.

## ගන්ධෝදකීය ථේරාපදානය

මම ප්‍රාසාදයක ඉන්න අවස්ථාවක විපස්සී භාග්‍යවතුන් වහන්සේ දැක්කා. මගේ ප්‍රාසාදය අසළින් වඩින උන්වහන්සේට සුවඳ පැන් ටිකක් අරගෙන ඉස්සා. ඒ චිත්ත ප්‍රසාදයෙන් කළුරිය කරල සුගතිගාමී වුනා. එතැන් පටන් සසර ගමන තුලදී අපායක ඉපදුනේ නැතිව ගමන් කරන කොට එයින් 31 වන කල්පයේ "සුගන්ධ" නමින් සක්විති රජෙක් වුනා.

පදුමුත්තර බුදු රජාණන් වහන්සේ බෝසත් කාලයේ පුරන ලද මහා පාරමිතා බලයෙන් සහජාත ප්‍රත්‍ය බලයෙන් ලොව පහල වූ සල් බෝධියට සුවඳ පැන් කලයක් පූජා කළා. බෝධිය සුවඳ පැනින් දෝවනය කරන කොට ඒ වෙලාවෙ ඇති වෙච්ච වැස්සෙදි අකුණක් ගැසීමෙන් මහා ශබ්දයක් ඇති වුනා. ඒ අකුණු සැර මට වැදිල මියගිහින් පැන් පූජා කරපු පිනෙන් දෙව් ලොව ඉපදුනා.

දෙව් ලොව මහල් 7 ක් සහිත විමානයක් පහල වුනා. ලක්ෂයක් දිව්‍ය අප්සරාවන් මට පිරිවර වශයෙන් ලැබුනා. දෙව් මිනිස් කොතැනක ඉපදුනත් ආබාධයක්, සෝකයක්, තැවීමක් නෑ. එයින් දෙදහස් අටසිය වන කල්පයේ "සංවයික" නමින් සක්විති රජ වුනා. මේ විදිහට සසර සැප විපාක විඳිමින් ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා පටිසම්භිදා අෂ්ට විමෝක්ෂ ෂඩ් අභිඥා සහිතව කෙළෙස් නසල සියලු දුක් නිමා කර ගත්තා.

## උදකදායක ථේරාපදානය

පැහැදුන ඉඳුරන් තියෙන, කෙළෙස් කැලඹිලි නැති, දානෙ වළඳන සිද්ධාර්ථ බුදු රජාණන් වහන්සේ දැකල කලයෙන් පැන් අරගෙන උන්වහන්සේට පූජා කළා. මෙයින් 90 වන කල්පයේ යම් පැන් පූජාවක් කළේද එයින් පසු මම දුගතියක ඉපදුනේ නෑ. 61 වන කල්පයේ සත් රුවනින් යුක්ත මහත් බල ඇති "විමල" නමින් සක්විති රජ පදවිය ලැබුවා. මම පහ වූ සැක ඇතිව ගෞතම බුදු සසුනේ උදකදායක නමින් බුද්ධානුසාසනය සම්පූර්ණ කර ගත්තා.

## උදකපූජක ථේරාපදානය

ආකාසයේ සෘද්ධියෙන් වඩින පදුමුත්තර බුදු රජාණන් වහන්සේ දැකල උන්වහන්සේ උදෙසා අතින් දිය දෝතක් අරගෙන ඉහලට දැම්මා. තථාගතයන් වහන්සේ ඒක පිළිඅරගෙන මේ විදිහට වදාළා. මේ පැන් පූජාව සහ චිත්ත ප්‍රබෝධය හේතු කරගෙන කල්ප ලක්ෂයක් දුගතියකට යන්නෙ නැතිව සුගති සම්පත් ලබනවා.

මෙයින් හත් දහස් පන්සිය වන කල්පයේ සතර මහා දිවයිනට අධිපති "සහස්සරාජ" නමින් තුන් වතාවක් සක්විති රජ වෙනවා. මේ විදිහට සසර සැප විඳල ගෞතම බුද්ධ සාසනයෙදි උතුම් අරිහත්වයට පත් වෙලා සසර ගමන අවසන් කර ගන්නවා.

## පබ්භාරදායක ථේරාපදානය

සිද්ධාර්ථ බුදු රජුන් උදෙසා ගල් පර්වතයක් සුද්ධ කරල පැන් කලයක් පුරවල උන්වහන්සේට පරිභෝග කරන්න තිව්වා. මේ කර ගත්ත පින ගැන ඊට පසු කාලයක ලොව්තුරා බුද්ධත්වයට පත් වුන පියදස්සී බුදු රජුන් මේ විදිහට ප්‍රකාශ කළා. බෙදීම් දහසක් ඇති, මුදුන් සියයක් ඇති, ධජ පතාකවලින් යුත්, ගෝලාකාර, කොළ පාට වර්ණයෙන් යුත් මහා ප්‍රාසාදයකුත් රත්තරනුත් පහල වෙනවා. කල්පයක් දෙව් ලොව සැප සම්පත් විඳල මෙයින් 32 වෙනි කල්පයේ "සුසද්ධ" නම් සක්විති රජ පදවියත් ලබල ගෞතම සම්මා සම්බුදු රජාණන් වහන්සේගේ සාසනයේ පැවිදි වෙලා සසර ගමන නිමා කර ගන්නවා.

## උදකාසනදායක ථේරාපදානය

මම ආරාමයෙන් නික්මිලා උත්තමාර්ථය වන නිවනට පැමිණීම සඳහා වැඩ ඉන්න ආසනයක් තියල වළඳන්න පැනුත් ගෙනත් තිව්වා. මේ කර ගත්ත පිනෙන් දුගතියෙන් වැළකිලා සුගති සම්පත් ලබල එයින් 15 වන කල්පයේ "අභිසාව" කියන සක්විති රජ පදවිය ලබල සසර ගමනෙන් එතෙර වුනා.

## උදපානදායක ථේරාපදානය

උදපානදායක තෙරුන් විපස්සී බුදු රජුන් උදෙසා පැන් වළඳන්න ළිඳක් සකස් කරල පිණ්ඩපාතය සමග පූජා කළා. ඒ පිනෙන් සසර වසනා තුරා දුගතියකට යන්නෙ නැතිව ගෞතම බුදු රජුන්ගේ ශ්‍රාවකයෙක් වෙලා සිව්පිළිසිඹියා සහිතව අරිහත් ඵලය පූර්ණ කරගෙන භව ගමනෙන් එතෙර වුනා.

## පළතුරු පූජාවේ ආනිසංස

## කුණ්ඩදාන ථේරාපදානය

සතියක් නිරෝධ සමාපත්තියට සම වැදී සිටිය පදුමුත්තර භාග්‍යවතුන් වහන්සේ ළඟට ඇවිත් ලොකු කෙසෙල් කැනක් උන්වහන්සේට පිළිගැන්නුවා. තථාගතයන් වහන්සේ ඒක බාරගෙන මගේ හිත තවත් ප්‍රසාදයට පත්වෙන බව දැනගෙන කෙසෙල් වැළඳුවා. බුදු රජුන් ආසනයේ වැඩ හිඳගෙන මේ විදිහට වදාළා.

මේ පර්වතයේ රැස් වෙලා ඉන්න යක්ෂ, භූත සියලු දෙනා මගේ වචනය ඇහුම්කන් දෙන්න. යමෙක්

## සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස

මට කෙසෙල් පූජාවක් කළේද, ඒ පින හේතු කොටගෙන 11 වරක් සක් දෙව් තනතුර ලබනවා, 34 වරක් සක්විති රජ පදවි ලබනවා. සිල්වත් රහතන් වහන්සේලාට ආක්‍රෝෂ පරිභව කරල බොරු චෝදනාවකටත් ලක් වෙනවා.

උන්වහන්සේ ගෞතම බුදු සසුනේ විවේකයේ යෙදිල (කාය, චිත්ත, උපධි විවේක) ධ්‍යාන වඩල තථාගතයන් වහන්සේ සතුටු කරල අරිහත්වයට පත් වුනා. දවසක් බුදු රජාණන් වහන්සේ උග්ග කියන නුවර සුභද්‍රාවගේ දානයට රහතන් වහන්සේලා විතරක් රැගෙන යන්න ඕන කියල ආනන්ද තෙරුන්ට ඒ බව දැන්නුවා.

ආනන්ද තෙරුන් ඒ සඳහා භික්ෂූන් ඉදිරියට සලාක (සීට්ටු) ගෙන ගිහින් දැන්වුවා. එතකොට කුණ්ඩධාන තෙරුන්, ඇවැත්නි එසේ නම් සලාකයක් දෙන්න කියල අත දිගු කළා. උන්වහන්සේ අරිහතුන් වහන්සේ නමක් බව නොදන්නා ආනන්ද හාමුදුරුවො ඒ බව බුදු රජුන්ට දැන්වුවාම සලාක දෙන්න කියල අනුමත කළා.

ආනන්ද හිමි සලාකයක් දීම සඳහා නැවත ඒ ස්ථානයට වඩින කොට කුණ්ඩධාන තෙරුන් වහන්සේ චතුර්ථ ධ්‍යාන සමාපත්තියට සම වැදිල අහසට නැගිල, ආනන්දයෙනි සලාකය ගෙනෙන්න, මා ගැන දන්නා තථාගතයන් වහන්සේ පළමුවෙන්ම සලාකය ගන්නා මම වළක්වන්නෙ නෑ කියල සීහ නාද කළා. එතකොට බුදු රජාණන් වහන්සේ භික්ෂූන් අමතල "ඒතග්ගං භික්ඛවේ මම සාවකානං භික්ඛුණං පඨමං සලාකං ගන්හන්තානං යදිදං කුණ්ඩධානෝ" මාගේ ශ්‍රාවකයන් අතර පළමුව සලාක ගන්නා වූ භික්ෂූන්ගෙන් මේ කුණ්ඩධාන භික්ෂුව අග්‍ර වන බව වදාරල ඒ අග තනතුර පිරිනැමුවා.

## තින්දුකදයක ථේරාපදනය

සිද්ධාර්ථ බුදු රජාණන් වහන්සේගෙ කාලයේ මම වඳුරෙක් වෙලා ඉපදිලා හිටියා. මම ගිරිදුර්ගවල හැසිරෙමින් වනයේ වාසය කරන ගමන් ප්‍රසන්න සිතින් සිද්ධාර්ථ බුදු රජුන් ගැන කීප දිනක්ම සොයා බැලුවා. මගේ හිත දැන ගත්ත උන්වහන්සේ දහසක් රහතන් වහන්සේලා සමග මා සමීපයට වැඩියා. මම සිත පහදවාගෙන උන්වහන්සේට තිඹිරි ගෙඩි පූජා කළා. තථාගතයන් වහන්සේ මට අනුකම්පාවෙන් ඒවා පිළිගත්තා.



මේ සිදු කර ගත්ත පිනෙන් තිරිසන් අත්බැවෙන් මිදිල එතැන් පටන් සුගතිගාමී වෙමින් සසර එනකොට එයින් 57 වන කල්පයේ "උපනන්ද" නමින් සක්විති රජ පදවි ලැබුවා. මේ බුදු සසුනේ පැවිදි වෙලා "තින්දුකදායක" නමින් සිව්පිළිසිඹියා සහිතව අරිහත්වයට පත් වුනා.

## අවණ්ඨ එලදයක ථේරාපදනය

මහා මේරු පර්වතය වගේ ශාන්ත සිදුහත් බුදු රජාණන් වහන්සේ සමාධියෙන් නැගිටල පිණ්ඩපාතය පිණිස මා වෙතට වැඩම කළා. අරළු, නෙල්ලි, අඹ, දඹ, බුළු, ඩෙබර, බදුල්ල, බෙලි, බොරුළු, දමනු කියන පළතුරු වර්ග ප්‍රසන්න සිතින් සිදුහත් බුදු රජුන්ට පූජා කළා.

ඒකෙ විපාකයක් වශයෙන් එතැන් පටන් සතර අපායක ඉපදුනේ නැතිව සුගති සම්පත් ලබමින් එයින් 57 වන කල්පයේ මහත් බල ඇති "ඒකජ්ඣ" නමින් සක්විති රජෙක් වුනා. තථාගත සාසනයේ සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව සියලු කෙළෙසුන් නසල පරම ශාන්ත නිවනට පත් වුනා.

පස් මරුන් දිනූ "සතරංසි" කියන සර්වඥයන් වහන්සේ මා ඉදිරියට පිණ්ඩපාතෙ වඩිනකොට මා ළඟ තිබුන පළතුරු ප්‍රසන්න සිතින් උන්වහන්සේට පූජා කළා. ඒ පිනෙන් ගෞතම බුදු සසුන දක්වා අපාගත නොවී සුගති සම්පත් ලබමින් සසර එන අතර ගෞතම බුදුන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වෙලා සියලු භව බැමි නසල හස්තියෙක් වගේ බැඳුම් සිඳල ආශ්‍රව රහිතව වාසය කරනවා. අවණ්ඨ එලදායක තෙරුන් නමින් සිව්පිළිසිඹියාවත්, ෂඩ් අභිඥාවත් ලබාගෙන සසර දුක් නිමා කර ගත්තා.

## උදුම්බර එලදයක ථේරාපදනය

පුරිසෝත්තම වූ සර්වඥයන් වහන්සේ විනතා කියන ගං තෙර වැඩ ඉන්නවා දැකපු මම දිඹුල් එල ගෙනත් උන්වහන්සේට පූජා කළා. ඒ පිනෙන් එතැන් පටන් කිසි දිනක දුගතිගාමී නොවී සසර බොහෝ සම්පත් ලබල මේ බුදු සසුනේ උදුම්බර එලදායක නමින් ත්‍රිවිද්‍යා ලාභීව අරිහත්වයට පත් වුනා.

## පිලක්ඛ එලදයක ථේරාපදනය

පිලක්ඛ එලදායක තෙරුන් වහන්සේ පෙර කල්පයක අත්ථදස්සී භාග්‍යවතුන් වහන්සේට මහත් ප්‍රසන්න සිතින් පුලිල ගෙඩි පූජා කළා. උන්වහන්සේ වෙතට පැමිණීමෙන් සිදු වුනේ මහත් ලාභයක්. ගෞතම තථාගතයන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වෙලා ත්‍රිවිද්‍යා සහිතව සියලු කෙළෙස් දවා හැරියා. බුද්ධානුසාසනය සම්පූර්ණ කර ගත්තා.

**බුද්ධෝ ලෝකේ සමුප්පන්නෝ හිතාය සබ්බ පාණිනං**

(බුදුවරයෙකුගේ ලොව පහල වීම සියලු සතුන්ට හිත සුව පිණිස පවතී.)

**ධම්මෝ ලෝකේ සමුප්පන්නෝ සුඛාය සබ්බ පාණිනං**

(ධර්මය ලොව පහල වීම සියලු සතුන්ට ලෞකික / ලෝකෝත්තර සුව පිණිස පවතී.)

**සංඝෝ ලෝකේ සමුප්පන්නෝ පුඤ්ඤක්ඛෙත්තං අනුත්තරං**

(සංඝ රත්නය ලොව පහල වීම අනුත්තර පිං කෙතකි.)


**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**

**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**



එළබටු



බඩඉරිඟු



රසකිඳ



දියමිත්ත

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 13

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් සමගින්, වස විස ආහාරවලට එරෙහිව විකල්ප වශයෙන් භාවිතා කරන්න පුළුවන් තවත් ස්වභාවික ආහාර වර්ග කිහිපයක්, පින්වත් ඔබගේ මනුස්ස අත්භවය ප්‍රයෝග විපත්තිවලට නොවැටී ආරක්‍ෂා කර ගැනීම සඳහා මෙවරත් සටහන් කරනවා.

**<u>එළබටු කොළ</u>** - එළබටු වර්ග කිහිපයක් තියෙනවා. මෙයින් හෙළ වෙදකමේදී යොදා ගන්නේ ගහේ, කොළේ, ගෙඩියේ, නැට්ටේ... ආදී සියලු තැන්වල කටු හට ගන්නා දේශීය එළබටු ප්‍රභේදය. සෙම් අමාරු, සෙම කුපිත වීමෙන් හට ගන්නා පීනස් රෝග ඇතුළු සියලු ආබාධ සඳහා ප්‍රත්‍යක්‍ෂ ඖෂධයක්. එළබටු කොළ කැඳක් වශයෙන් සකස් කරල ආහාරයට ගැනීමෙන් පපුවේ, පෙණහළුවල නරක් වෙලා තැන්පත් වෙලා තියෙන සියලු සෙම ක්‍රමානුකූලව ගලවල බැහැර කරනවා. නැවත ඒ ස්ථානවල සෙම ඇති වීමත් වළක්වනවා. උගුරේ ස්වර තන්ත්‍ර අතර සෙම තැන්පත් වීමෙන් ප්‍රදාහයට පත් වෙලා හට ගන්නා සෙම් ගෙඩි, උගුරේ වේදනාව, උගුර කැසීම, කැස්ස... ආදී රෝගී තත්ත්වයන් වහා දුරු කරනවා. ඒ වගේම ඉරුවාරදය රෝගී තත්ත්වය සුව වෙන්නත් උපකාර වෙනවා. මළබද්ධය දුරු කරනවා. දිනපතා හෝ සතියකට දෙතුන් වේළක් කැඳක් වශයෙන් ආහාරයට ගැනීමෙන් මේ තත්ත්වයන් වළක්වා ගන්න පුළුවන්. ඒ වගේම කටු ඉවත් කරල එළබටු කොළ සාමාන්‍ය මැල්ලුමක් වශයෙන් හෝ දෙහි ඇඹුල් ටිකක් දාල සම්බෝලයක් විදිහටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**<u>බඩඉරිඟු</u>** - ඕනෑම නිවසක පහසුවෙන් වගා කර ගන්න පුළුවන්, ඉතා අඩු සැළකිල්ලක් යටතේ වුනත් හැදෙන වටිනා ඖෂධීය ශාකයක්. හැබැයි අද වෙළඳපොලේ විකුණන්න තියෙන බඩඉරිඟු වගා කරනකොට බොහෝ කොටම අධික විස සහිත කෘමිනාශක වර්ග යොදන නිසා ඒවා අනුභවය කිරීමෙන් වකුගඩු ආබාධ වගේ බරපතල රෝගයන්ට හේතු වෙන්න පුළුවන්. ඒ නිසා තමන්ගෙ ගෙවත්තෙ වගා කරන, එහෙම නැත්නම් විස්වාසදායී ගොවිපොළකින් ලබා ගත්ත බඩඉරිඟු ආහාරයට ගැනීම තමයි සුදුසු.

අද අතිරේක ආහාරයක් වශයෙන් බඩඉරිඟු තම්බල ආහාරයට ගත්තත් ඒකෙන් ලැබෙන ඖෂධීය ගුණ ගැන බොහෝ දෙනෙක් දන්නෙ නෑ. බඩඉරිඟු ආහාරයට ගැනීමෙන් ශරීරයේ දරා ගැනීමේ ශක්තිය වැඩි වෙනවා. කොලෙස්ටරෝල් පාලනය කරනවා. රුධිර නාල සුද්ධ කරනවා. මධුමේහය සමනයට උපකාරී වෙනවා. බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරනවා. මළබද්ධය දුරු කරනවා. බඩඉරිඟු ඇට ඇඟිලි දෙකෙන් අල්ලල පොඩි කළාම කිරි එන මට්ටමේ ළපටි කරල් සම්පූර්ණයෙන්ම මැද බොඩයත් එක්කම පෙති ගහල සාමාන්‍ය එළවළු ව්‍යංජනයක් සකස් කරන ආකාරයට පිළියෙල කරල ආහාරයට ගන්න පුළුවන්. බඩේ වාතය පිරීම, බඩ පිපුම ඇති වුනාම, කිරි නොඑන මට්ටමේ බඩඉරිඟු කරල් (සාමාන්‍ය මට්ටමට මෝරපු) පිට පොත්තත් එක්ක ගින්නෙන් පුච්චල පුපුරන මට්ටමට ආවම බාගෙන ආහාරයට ගැනීමෙන් ඒ ගති වහා දුරු වෙනවා.

මෝරපු බඩඉරිඟු ඇට කොටල කුල්ලෙන් පොලාගෙන පොතු ඇරල රෑට දියේ පෙඟෙන්න දමල උදේට සාමාන්‍ය කිරිබතක් ආකාරයට සකස් කරල ආහාරයට ගැනීමෙන් අම්ල පිත්ත ප්‍රදාහය, මළබද්ධය, රක්ත උෂ්ණය වහා මග හැරිල යනවා. ඒ වගේම අර්ශස් මළ සමග රුධිර වහනය ආදී රෝගී තත්ත්වයන් ක්‍ෂණිකව මග හැරෙනවා. වා පිත් සෙම් තුන් දොස් සමනය කරනවා. මෝරපු බඩඉරිඟු ඇට වංගෙඩියක දාල ඇට කෑලි දෙක තුනකට කැඩෙන විදිහට කොටාගෙන පෙඟෙන්න තියල බතක් විදිහට පිළියෙල කරල ආහාරයට ගන්නත් පුළුවන්. කරල් එන්න පෙර ළපටි බඩඉරිඟු ගස් සහමුලින්ම උදුරගෙන මුල් ඉවත් කරල සම්පූර්ණයෙන් කොටාගෙන කොළ කැඳක් ආකාරයට සකස් කරල සතියකට දවස් 3 ක් විතර ආහාරයට ගැනීමෙන් භගන්දරා සහ අර්ශස් රෝග සම්පූර්ණයෙන්ම දුරු කරගන්න පුළුවන්.

**<u>රසකිඳ</u>** - හෙළ වෙදකමට නැතිවම බැරි ඖෂධයක්. රසකිඳවල තියෙන ප්‍රධානම ගුණාංගය තමයි ශරීරයේ තියෙන රස ධාතුව උද්දීපනය කිරීම. ශරීරයේ ඕනෑම තැනකට අවශ්‍ය ඖෂධ ශක්තිය ගමන් කරවීමේ හැකියාවෙන් යුක්තයි. ස්නායු, රුධිර නාල අවහිරතා වහා මග හරවනවා. මළබද්ධය දුරු කරනවා. රුධිරය පිරිසිදු කරනවා. සියලු පද්ධතිවල අපද්‍රව්‍ය වහා ඉවත් කරල නිසි පරිදි ක්‍රියාත්මක

කරවනවා. තුන් දොස් සමනය කරනවා. නහර ගැට ගැසීම වළක්වනවා. රුධිරයේ ලේ කැටි ගැසීම වළක්වනවා. ඇස් පෙනීම, කන් ඇසීම, ආහාරවල රස දැනෙන ගතිය වැඩි කරනවා. රසකිඳ ළපටි කොළ සම්බෝලයක්, සාමාන්‍ය පලා ව්‍යංජනයක්, කොළ මැල්ලුමක් ආකාරයටත්, කැඳක් වශයෙනුත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. රසකිඳ වැලේ දණ්ඩ වේළල තේ කෝපි වෙනුවට ආදේශකයක් විදිහටත් භාවිතා කරන්න පුළුවන්.

**දියමිත්ත** - රතු දියමිත්ත සහ එළ දියමිත්ත කියල වර්ග 2 ක් තියෙනවා. බඩවැටි, ඕවිට, දෙපාවල් අසළ අව්ව හොඳින් වැටෙන තැන්වල ස්වභාවිකව හට ගන්නා වැල් විශේෂයක්. මේ වර්ග දෙකම හෙළ වෙදකමේදී ඖෂධ විදිහට යොදා ගන්නවා. ඖෂධීය ගුණ බොහොමයක් අන්තර්ගතයි. කොලෙස්ටරෝල් පාලනය කරනවා. ලේ නහර සුද්ධ කරනවා. නහර තුල තියෙන සියලු අවහිරතා මග හරවනවා. ලේ කැටි ගැසීම වළක්වනවා. මුත්‍රා රෝග සඳහාත් ඉතාම ගුණදායකයි. මුත්‍රාශයේ සහ වකුගඩු ආශ්‍රිතව කැල්සියම් තැන්පත් වීම වහා නවත්වනවා. කැල්සියම් තැන්පත් වෙලා තියේ නම් වහා දියකර හරිනවා. මුත්‍රා ආසාදන, දැවිල්ල, බඩ කොරවීම, කොන්දෙ කැක්කුම, කකුල් ඉදිමුම වහා සුව කරනවා. රුධිර පීඩනය පාලනය කරනවා. සාමාන්‍ය එළවළු ව්‍යංජනයක්, සාමාන්‍ය පලා මැල්ලුමක්, පලා සම්බෝලයක් හෝ කැඳක් වශයෙන් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**අන්නාසි** - හුග දෙනෙක් නොදැන හිටියත් ඉතා ඉහලින් සියලු ඖෂධීය ශක්තීන් ගැබ් කිරීමේ හැකියාවක් තියෙන ආහාරයක් විදිහට අන්නාසි හඳුන්වන්න පුළුවන්. මුරිසි අන්නාසි, ගල් අන්නාසි, කටු අන්නාසි, නැව් අන්නාසි... ආදී වශයෙන් විවිධ ප්‍රභේද තියෙනවා. මේ සියලු ප්‍රභේද ආහාර වශයෙන් ගන්නවා. හෙළ වෙදකමේදී බහුලවම යොදා ගන්නෙ ගල් අන්නාසි. මොකද ගල් අන්නාසිවලට කිරණ ශක්තිය ගැබ් කර ගැනීමේ විශේෂ හැකියාවක් තියෙනවා. තොවිල් පවිල්වලදිත්, ඉනා බන්ධන, හූනියම්... ආදිය කැපීමේදිත් ගල් අන්නාසි විතරක් යොදා ගන්නෙ ඒ නිසා. අන්නාසි වර්ගවලින් ගුණය වැඩිම ගල් අන්නාසි. රතු පාටට හුරු නිසා පහසුවෙන් අඳුන ගන්න පුළුවන්.

ඒ වගේම යම් කිසි අපත්‍ය දෙයක් ශරීරගත වුනාම ඒක ශරීරයෙන් බැහැර කරවන්නත්, විනරාජ කසාය, ඇඹුල් පහ... ආදී වශයෙන් හෙළ වෙදකමේ එන යම් යම් ගුප්ත සාස්ත්‍රීය ක්‍රමවලදිත් ගල් අන්නාසි ගැට මතුරල කැපීමෙන්, ජීවම් කරල බොන්න දීමෙන් කිරණ කයට බලපාල තියෙන විස කළු කිරණ එකතු කරල කපල ඉවත් කරන්න පුළුවන්.

අන්නාසි උෂ්ණාධික ආහාරයක් වුනත් පොල් කිරි එකතු කළාම උෂ්ණ ගතිය වහා මග හැරිල යනවා. ඒ නිසා අන්නාසි ව්‍යංජනයක් වශයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් මනුස්සයාගේ කිරණ කයට එල්ල වෙලා තියෙන විස ඉවත් කරන්න පුළුවන්. උදාහරණයක් විදිහට **යම් කිසි කෙනෙක් තමන්ගෙ අභිමතය ඉෂ්ට සිද්ධ කරගන්න තව කෙනෙකුට ඉනාවක් දුන්නොත්, ඒ ඉනා බන්ධනය ආහාරයට ගත්ත කෙනා දින 7 ක් යන්න පෙර අන්නාසි ව්‍යංජනය දින 2 - 3 ක් ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ ඉනාව ශරීරයට පත්තියන් නොවී මළ සමග ශරීරයෙන් බැහැර වෙනවා.**

ඒ වගේම ආහාර මාර්ගයේ අංගුලිකා වටා බැඳෙන ශ්ලේෂ්මල කාරම් ශරීරයට අනවශ්‍ය විදිහට තියේ නම් ඒවා ශරීරයෙන් බැහැර කරනවා. ආහාර ජීර්ණය නිසි පරිදි සිද්ධ කරනවා. අනවශ්‍ය මේදය ස්වභාවිකවම දහනය කරනවා. ආහාර ජීර්ණය පහසු කරල ශරීරයට ගන්න ආහාරවල තියෙන සියලු පෝෂණ පදාර්ථ ශරීරයට අවශෝෂණය කරගන්න උපකාර වෙනවා. ආහාර රුචිය වැඩි කරනවා. හැබැයි අර්ශස්, භගන්දරා වගේ රෝගී තත්ත්වයන් තියෙන අය අන්නාසි ව්‍යංජන ආහාරයට ගැනීමෙන් වළකින්න ඕන. මොකද උෂ්ණ නිසා ඔවුන්ට ඒක අපත්‍ය වෙන්න ඉඩ තියෙනවා. අන්නාසි සාමාන්‍ය පළතුරු සලාදයක්, ව්‍යංජනයක් වශයෙන් හෝ සාමාන්‍ය කොළ කැඳක් වශයෙන් හෝ අමුවෙන් බත් සමග හෝ ආහාරයට ගන්න පුළුවන්. කොළ කැඳක් විදිහට ගන්නකොට, අමු අන්නාසි පිට පොත්ත ඉවත් කරල ඉතිරි වෙන වහල්ලත් එක්ක කොටල ඉස්ම ටික පෙරාගෙන පොල් කිරි ටිකක් දාල සාමාන්‍ය කැඳක් හදන ආකාරයට හදාගන්න පුළුවන්. හැබැයි නටන්නෙ නැති මට්ටමට බුබුළු දානකොට බාගන්න ඕන.

ඒ වගේම මේ කියන ඖෂධීය ගුණාංග 100% ක්ම තියෙන්නෙ ස්වභාවිකව හැදෙන අන්නාසිවල විතරයි. අද වෙනකොට වෙළඳපොලේ තියෙන අධික හෝමෝන වර්ග යෙදීමෙන් වගා කරන අන්නාසිවල මේ ගුණ බොහොම අඩුයි.

**ගස්ලබු** - අද බොහෝ කොටම පළතුරක් විදිහට විතරක් ආහාරයට ගත්තත් ව්‍යංජනයක් විදිහටත් ඉතා රසවත් ගුණදායක ආහාරයක්. හෙළ වෙදකමේදී විශේෂයෙන් ගස්ලබු කිරි යොදා ගන්නවා. හොඳින් පැසුනු ගස්ලබු ආහාරයට එකතු කර ගැනීමෙන් ශරීරයේ බහිස්‍රාවී පද්ධතිය මුල් කරගෙන සියලු පද්ධතිවල තියෙන විස අපද්‍රව්‍ය තියේ නම් ඒවා බඩවැල් කරා ගෙනත් මළ සමග ශරීරයෙන් පිට කරනවා. ආමාශයේ සහ බඩවැලේ රැඳිල බැඳිල තියෙන සියලු කාරම්, ශ්ලේෂ්මල වහා දිය කර හරිනවා. අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගන්නා තුවාල වහා සුව කරනවා. ගස්ලබු කිරිවල ප්‍රෝටීන් ජීර්ණය කිරීමේ විශේෂ හැකියාවක් තියෙනවා. අංගුලිකා තුල සහ ඒ වටා තියෙන එන්සයිම පටලවල කාරම් බැඳිල ඒවා නිසි පරිදි ක්‍රියා කරන්නෙ නැත්නම්, ඒ ශක්තියෙන් ඒවා දිය කරල යථා තත්ත්වයට පත් කරනවා. ආහාර ජීර්ණය පහසු කරනවා. අම්ල පිත්ත ප්‍රදාහය පාලනය කරනවා. බඩ පුරවා දැමීම, තෙල් මිරිස් ආහාර වැඩිපුර ගත්තම ඇතිවන සියලු අපහසුතා ගස්ලබු ආහාරයට එකතු කර ගැනීමෙන් දුරු වෙලා යනවා. අර්ශස්, භගන්දරා ආදී රෝගී තත්ත්වයන්ට ඉතාමත් ගුණදායකයි. ඒ වගේම අද බහුලව දකින්න තියෙන කොලෙස්ටරෝල් ආදී රෝගී තත්ත්වයන් පාලනය කිරීමේ හැකියාවෙන් යුක්තයි.

ආහාරයට එකතු කරගන්න ඕන හොඳින් පැහිච්ච ගස්ලබු. ඒ කියන්නෙ ගෙඩිය කැපුවට පස්සෙ යන්තමින් කහ පාට වෙලා තියෙන අවස්ථාවෙ. මැල්ලුමක්, සම්බෝලයක් හෝ ව්‍යංජනයක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. සම්බෝලයක් විදිහට ගන්නකොට උණු වතුර ටිකක් දාල විනාඩි 2 - 3 ක් තියල ගන්න පුළුවන් නම් මෙළෙක් වන නිසා වඩාත් හොඳයි. එහෙම නැත්නම් පොල් දාල මලවල මැල්ලුමක් විදිහට හදාගන්නත් පුළුවන්. හැබැයි ගැබිණි මව්වරුන් සහ දරු එල බලාපොරොත්තු වෙන කාන්තාවන් අමු ගස්ලබු ආහාරයට ගැනීමෙන් වළකින්න ඕන. මොකද ගබ්සා වෙන්න ඉඩ තියෙන නිසා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාරමහතෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී, ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා බේත් සමාධියෙන් මතු කර ගත් තවත් ප්‍රබල ප්‍රත්‍යක්‍ෂ අත් බෙහෙත් කිහිපයක් නූතන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් සටහන් කරනවා. විශේෂයෙන් ප්‍රබල රෝග රැසකට ප්‍රත්‍ය වන තෙල් වර්ග කිහිපයකුත් මේ යටතේ ඉදිරිපත් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බේත් වර්ග ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තියට යටත්ව ප්‍රත්‍ය වෙන නිසා, මේ සඟරාවෙ මීට කලිනුත් පළ කළ සාසනික ප්‍රතිකර්ම කිරීමෙන් අනතුරුව මේ බේත් පාවිච්චි කරනව නම් වඩාත් සාර්ථක හා ඉක්මන් ප්‍රතිඵල ලබාගන්න පුළුවන්. ඒ වගේම ඒ ඒ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ යම් කිසි අනුපාතයකට අනුව නිසා, තමන්ට අවශ්‍ය ප්‍රමාණවලින් ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්න පුළුවන්.

## දියවැඩියාව තුරන් කිරීම සඳහා

කර්මජ රෝගයක් විදිහට පරම්පරාවෙන් ආරෙට එන දියවැඩියාව නොවන, වර්තමානයේ පවතින වස විස කැවීම් ආදී ප්‍රයෝග විපත්ති නිසා හට ගත් දියවැඩියාවට ප්‍රත්‍ය වන බේතක් තමයි මේ. විශේෂයෙන් පිටියුටරි ග්‍රන්ථියේ ක්‍රියාකාරීත්වය දුර්වල වීමෙන් හට ගන්නා දියවැඩියාව මේ බේතෙන් නිට්ටාවටම හොඳ කර ගන්න පුළුවන්. ඒ වගේම මළබද්ධය තියෙන අය ඒ තත්ත්වය දුරු කරගෙන මේ බේත පාවිච්චි කරනව නම් වඩාත් සාර්ථකයි.

එක වරකට අවශ්‍ය අමුද්‍රව්‍ය :- උදු බැදල පිටි කරල කලං එකහමාරයි, පිරිසිදු මී පැණි අවුන්ස එකහමාරයි, ඉදුනු අළු කෙසෙල් ගෙඩි 1 යි. ඉදුනු අළු කෙසෙල් ගෙඩියේ මදයට අමතරව ලෙල්ලෙ ඇතුළු පැත්තෙ තියෙන පිටි කොටසත් හූරල ගන්න. දැන් මේ සියල්ලම එකට මිශ්‍ර කරල චූර්ණයක් විදිහට හදාගන්න. ඒක කොටස් 2 කට බෙදාගෙන දවසකට වේල් 2 බැගින් දවල්ට, රෑට කෑමට පසු ගන්න. ඒ විදිහට දින 10 ක් බේත හදාගෙන පාවිච්චි කරන්න. මේ කාලයේ අධික උෂ්ණ සහ අධික සීතල ආහාර ගැනීමෙන් සහ නිදි වැරීමෙන්, අධික වෙහෙස මහන්සි වීමෙන් වළකින්න. ඒ වගේම මේ දින 10 තුල පුළුවන් තරම් අඩුවෙන් ස්නානය කිරීම තමයි වඩා හොඳ. ස්නානය කරනව නම් දහවල් 12.00 ට පෙර කරගන්න.

## අණ්ඩවාතය සඳහා

පුරුෂයන්ගේ අණ්ඩ කෝෂවල වායුව සහ ජලය (වසා තරලය ආදී) පිරීම නිසා ඉදිමිලා විසාල වීම තමයි අණ්ඩ වායුව කියන්නෙ. බටහිර වෛද්‍ය විද්‍යාවෙදි මේ තත්ත්වය හයිඩ්‍රොසීල් කියල හඳුන්වනවා. කිසිම බේතක් පාවිච්චි නොකර ඒ තත්ත්වය දුරු කරගන්න හඳුන්වා දෙන එක්තරා ගුප්ත ක්‍රමවේදයක් තමයි මේ.

කාන්තාවක් හිසේ බඳින කෘතිම හෝ ස්වභාවික කෙස් හවරියක් අරගන්න. හැබැයි ඒක දවසක් දෙකක් හරි පාවිච්චි කරපු එකක් වෙන්න ඕන. දැන් වම් අණ්ඩ කෝෂයේ පිටතින් තියෙන කෙස් ගස් 3 ක් පිටි අතින් (තමන්ට නුහුරු අතින්) ඇදල ගලවගෙන හවරිය ඇතුලට දමන්න. ඒ වගේම දකුණු අණ්ඩ කෝෂයෙනුත් කෙස් ගස් 4 ක් ගලවල පිටි අතින්ම ඒ හවරිය ඇතුලට දමන්න. හැබැයි ඒ විදිහට පිටි අතින් ගලව ගන්න කොට තරමක් වේදනා එන නිසා ඒකෙන් වළකින්න කියල කතුරකින් කපාගෙන හරියන්නෙ නෑ. මොකද හමේ සියුම් සිදුරක් හැදෙන විදිහට කෙස් ගහ අලයත් එක්ක සහමුලින්ම ඉදිරිලා එන්න ඕන.

ඉන්පසු කොළපොතක් පට්ට ගහල එන පට්ටයකින් හෝ ඒ වගේ සුදුසු දෙයකින් හවරිය උණ්ඩි කරල ඔතල පොළවෙ අඩි 3 ක් පමණ වළක් කපල ඒ වළ ඇතුලට රෝගියාගේ පිටි අතින්ම හවරිය දමල ඒ අතින්ම පස් අහුරු 3 ක් වළට දාල රෝගියා විසින් හෝ වෙනත් කෙනෙක් විසින් හෝ වළ වහන්න. නැවත ගොඩ ගන්නෙ නෑ. වළ කැපීම, වළ වැසීම ඇතුළු මේ සම්පූර්ණ ප්‍රතිකාරය සෙනසුරාදා දවසක උදේ වරුවේ ඉර මුදුන් වෙන්න පෙර (පෙ. ව. 7.00 - මධ්‍යහ්න 12.00 ත් අතර) කතා නොකර කළ යුතුයි. මේ ප්‍රතිකාරය සම්පූර්ණයෙන්ම රෝගියා විසින් කරන්න පුළුවන් නම් වඩා හොඳයි. එහෙම අපහසු නම්, වළ කැපීම විතරක් රෝගියාගේ ඥාතියෙක් විසින් සිද්ධ කරල ඉතිරිය රෝගියා විසින්ම කරන්න ඕන. දින 3 ක් යන්න පෙර කෝෂවල ඉදිමුම සහ වේදනාවන් දුරු වෙනවා.

දැන් මෙතනදි ක්‍රියාත්මක වෙන ක්‍රමවේදයත් එක්තරා ආකාරයකට පහදන්න පුළුවන්. ඇත්තටම මෙතනදි පොළවෙ වළ දාල සිද්ධ කරන්නෙ භූමියට අරක් ගෙන ඉන්න බහිරවයන්ට කැප කිරීමක්. සාමාන්‍යයෙන් බහිරවයන්ට හිමිකම ලැබෙන්නෙ පොළවෙ අඩි දෙකහමාරක් විතර ගැඹුරින් පසු තියෙන කොටස. ඒ නිසයි අඩි 3

ක් ගැඹුරු වළක් කපන්න කියන්නෙ. බහිරවයො කියන්නෙ ලිංගය (අණ්ඩ කෝෂ) ඉතා කුඩා සත්ත්ව කොටසක්. ඒ නිසා ඒ අය ඉතා විසාල අණ්ඩ කෝෂවලට කැමතියි. මොකද අණ්ඩ කෝෂවලින් තමයි හෝමෝන ආදිය නිෂ්පාදනය කරල ඒ ශක්තිය මෙහෙය වන්නෙ. ඒ වගේම ඒ අයට ස්ත්‍රී ඇසුරත් බොහොම අඩුයි. මොකද ඒ ලෝකයේ ස්ත්‍රීන් ඉන්නෙ බොහොම අඩුවෙන්. ඒ නිසා ඒ අය තමන්ට තියෙන අසහනය දුරු කර ගන්න විසාල අණ්ඩ කෝෂයක් සහ ස්ත්‍රී නිමිත්තක් අරගෙන කම් සැප විඳින්න බලාපොරොත්තුවෙන් ඉන්නෙ.

දැන් එතකොට රෝගියා බලාගෙන ඉන්නෙ තමන්ගෙ විසාල අණ්ඩ කෝෂය අඩු කරගන්න. එහෙම නැත්නම් අමතර කොටස ඉවතට දාන්න. ඒ වගේම බහිරවයො බලාගෙන ඉන්නෙ ඒක පැනල ගන්න. කැප කරන නිසා ඒ අයට ගන්න හිමිකමත් ලැබෙනවා. අර කෙස්ගස්වල තියෙන සියුම් ශ්‍රාවය ඔස්සේ උන් කිරණමය වශයෙන් රෝගියාගේ කෝෂවල තියෙන වායුව සහ ශ්‍රාවය ඇද ගන්නවා. කාන්තාවගේ පාවිච්චි කරපු හවරිය නිසා ඒකෙ තියෙන කිරණ ශක්තිය හරහා උන්ට කාන්තාවක් ඉන්නවා කියන හැඟීම ඇති වෙනවා. ඇත්තටම මෙතනදි හවරිය පිදේනියක් විදිහට තමයි ඒ අයට දෙන්නෙ. ඉතින් ඒක බලාගෙන ඉන්න ඒ අමනුස්සයොත් පැන්න ගමන් ඒක පිදේනියක් වගේ ගන්නවා. දවස් කිහිපයක් යනකොට අර කිරණ මාධ්‍යය ඔස්සේ ඉදිමිච්ච කෝෂවල තිබිච්ච වායුව සහ ශ්‍රාවයන් ඒ අය උරා ගන්න නිසා ඉදිමුම සහ වේදනාව අඩු වෙනවා.

**වස විස ආදිය ශරීරගත වීම නිසා වකුගඩු, අග්න්‍යාශය, හෘදය වස්තුව, මොළය ආදී ඉන්ද්‍රියන් අක්‍රියත්වයට පත් වූ විට ඒවායේ විස ඉවත් කොට යථා තත්ත්වයට පත් කිරීම සඳහා අරිෂ්ටයක්**

අවශ්‍ය අමුද්‍රව්‍ය :- බිම් පොල් ගස් සම්පූර්ණයෙන්ම ග්‍රෑම් 100 යි (සඳුදා දවසක රවි හෝරාවකින් බිම් පොල් ගස් උදුරාගන්න. රවි කියන්නෙ ක්‍රියාකාරීත්වය. ක්‍රියාකාරීත්වය වැඩි නිසයි රවි හෝරාවකින් ගලව ගන්නෙ.), නික මුල් ග්‍රෑම් 100 යි, පලොල් මුල් ග්‍රෑම් 100 යි, ඇත්දෙමට මුල් ග්‍රෑම් 100 යි, වරක මුල් ග්‍රෑම් 100 යි, මී මුල් ග්‍රෑම් 100 යි, නා මුල් ග්‍රෑම් 100 යි, හීන් උඳුපියලි ග්‍රෑම් 100 යි, වෙලං පොතු ග්‍රෑම් 100 යි, අසෝක මුල් ග්‍රෑම් 100 යි, සුදු සුකිරි ග්‍රෑම් 100 යි. (මේ ශාක අමුද්‍රව්‍ය වියළි ඒවායින් හෙවත් ඇල් මැරුනු ඒවායින් ගන්න. බෙහෙත් වෙළඳසැලකින් මිලදී ගන්නව නම් කොහොමත් වියළි ඒවා තමයි ලැබෙන්නෙ. තමන් විසින් උදුර ගන්නව නම් දවස් 3 - 4 ක් විතර තියල ඇල් මැරුනට පසුව ගන්න.)

මේවා සියල්ලම එකට අරගෙන කොටාගෙන නිවිච්ච හෝ මඳ රස්නෙ උණු වතුර බෝතල් තුනහමාරක් දමා මිරිකගෙන කනක්කයක දමන්න. ඒ ඖෂධයට රිදී කුඩු ග්‍රෑම් 10 ක් දමා කට හොඳින් වසා දින 21 ක පමණ කාලයක් පොළවෙන් අඩි 6 ක් ඉහලක තියන්න. ඉන්පසු වීදුරු බෝතලයකට පෙරාගන්න. පෙරා ගත්ත අරිෂ්ටයට අර කනක්කයේ මැටි මුට්ටියේ තිබිච්ච රිදී කුඩු ටිකත් එකතු කරන්න. රොඩ්ඩත් එක්ක වතුරට දැම්මම රිදී කුඩු ටික පතුලේ තැන්පත් වෙනවා. එතකොට වෙන් කරගන්න පුළුවන්. දැන් නැවතත් හොඳින් වසා පෙර සේම පොළවෙන් අඩි 6 ක් උසක දින 21 ක් තියන්න. නැවතත් ඒ බෝතලයේ තියෙන අරිෂ්ටය වෙනත් වීදුරු බෝතලයකට පෙරා ගන්න. හැබැයි ඒ බෝතලයට නැවත රිදී කුඩු දාන්නෙ නෑ. ඒ වගේම පාවිච්චියට ගත්ත රිදී කුඩු මේ බේත හදන්න නැවත පාවිච්චියට නොගත යුතුයි. මොකද රිදී කුඩු එක වරක් පාවිච්චි කළාම ඒකෙ ශක්තිය උරාගෙන බලය නැති වෙනවා. ඒ නිසා එහෙම ගන්නව නම් සෙල්සියස් අංශක 600 ක උෂ්ණත්වයට උණු කිරීමෙන් පසුව යොදා ගත යුතුයි.

ඍද්ධි බලය ක්‍රියාත්මක වෙන්නෙ පොළොවෙන් අඩි 6 ක් උසින් නිසයි අඩි 6 ක් උඩින් තියන්නෙ. රිදීවලින් කරන්නෙ ඍද්ධිමත් බව වැඩි කිරීම. ඒ වගේම පොළව කිව්වම පස් සහිත පොළවෙ සිටයි අඩි 6 ක් ඉහලට ගන්නෙ. එහෙම නැතිව ගේ අතුලෙ සිමෙන්ති පොළව නෙවෙයි. අවශ්‍ය නම් උඩින් වැස්මක් තියන්නත් පුළුවන්.

දැන් මේ විදිහට පෙරා ගත්ත අරිෂ්ටයෙන් තේ හැඳි 1/2 බැගින් උදේ, දවල්, රෑ ආහාරයට පෙර මාස 3 ක් ගන්න. මේ මගින් මධුමේහයත් සුව වෙනවා.

**තුන් දොස් කිපීමෙන් හට ගන්නා හන්දිපත් වේදනා, මස් තැලීමෙන් හට ගන්නා වේදනා, ආතරයිටීස් ඇතුළු සියලු වේදනාවන්ට තෙලක්.**

අවශ්‍ය අමුද්‍රව්‍ය : වියළි නා ඇට කලං 6 යි, වියළි පොල්පලා කලං 6 යි, වියළි ඉරිවේරිය දඬු කලං 6 යි, ලිපේ අළු කලං 6 යි (පොල් ගහේ පොල් අතු, හනසු... ආදී මොනව හරි කොටසකින් එන අළුත් සමග), එළ ගව මූත්‍රා අවුන්ස 3 යි, පිරිසිදු එළඟිතෙල් බෝතල් 1/8 යි, පිරිසිදු තල තෙල් බෝතල් බාගයයි, පිරිසිදු පොල් තෙල් බෝතල් බාගයයි. (ගව මූත්‍ර ගන්නකොට බිමට වැටෙන්න පෙර භාජනයකට එකතු කරගන්න ඕන. ගවයෙක්ගෙ කොන්දෙ දෙපැත්තට බේරිලා යන්න වතුර ටිකක් වැක් කෙරුවම ඒ සතාට මූත්‍රා බර හැදෙනවා. එතකොට ඒ මූත්‍රා ටික එකතු කරගන්න පුළුවන්.).

නා ඇට, පොල්පලා, ඉරිවේරිය, ලිපේ අළුත් එක්ක හොඳින් කොටාගෙන මැටි මුට්ටියකට දමා ගව මූත්‍ර අවුන්ස 3 ත් කලවම් කරල, හොඳින් නටවා නිවා ගත්ත හෝ මඳ රස්නෙ වතුර බෝතල් බාගයක් දමන්න. ඉන්පසු එළඟි තෙල්, තල තෙල්, පොල් තෙල් එකතු කරල මුට්ටිය වහල දින 21 ක් අඩි දෙකහමාරක් පමණ පොළව යට හොඳින් තෙතමනය තියෙන තැනක වළ දමන්න. දින 21 කින් පසු ගොඩ අරගෙන හොඳින් මිරිකල පෙරාගෙන එන ද්‍රාවණය ලිපේ තියල මඳ ගින්නේ හිඳ ගන්න. තෙල හිඳීගෙන එනකොට කළුදුරු, සතකුප්ප, නා මල් රේණු, විෂ්ණුක්‍රාන්ති, වී පොරි කලං 2 බැගින් එකතු කරන්න. මයුර පාකයේදී බාගන්න.

පොල් කටු දුමෙන් ගම්මිරිස් කොළයක් රත් කරගෙන ශරීරයේ වේදනා තියෙන තැන්වල රවුමට තවල රවුමට මේ තෙල් ආලේප කරන්න. මොකද රවුමට ක්‍රියාත්මක වෙනකොට තමයි කිරණ බලයක් හැදෙන්නෙ. මේ විදිහට දිනපතා උදේ, රාත්‍රී සුව වෙනකල් කරන්න.

**ළප කැළැල්, තුවාල, හොරි, දද... ආදී ලේ විස වීමෙන් හට ගන්නා චර්ම රෝගයන්ට, රක්ත උෂ්ණය නිසා විලුඹ පැළීම් ආදියට, පොතු කබර රෝගයට තෙලක්**

අවශ්‍ය අමුද්‍රව්‍ය : වට්ටක්කා කරටි කලං 6 යි, නිදිකුම්බා මල් සහ මුල් කලං 6 බැගින්, තුරුගොලෑ පුවක් මද (නියපොත්තෙන් කඩන්න පුළුවන් ළපටි මට්ටමේ ඒවා) කලං 6 යි, දියතිප්පිලි ගස් සහමුලින්ම කලං 6 යි, සුදු අරලිය මල් කලං 6 යි, මුරුංග ගහේ පොතු කලං 3 යි (ගහේ පොළව මට්ටමේ පටන් අඩි එකහමාරක් ඇතුලතින් ගලව ගන්න.), ඉදුනු වෙරළු ඇට නැතිව කලං 6 යි, වෙරළු මල් කලං 6 යි, වටේ පරාග සහිත වරකා ගැටේ පහටිය

පළුවෙන් කලං 6 යි (පහටිය පළුවෙ තමයි ගුරුත්වාකර්ෂණය නිසා වැඩිපුරම ශක්තිය ගැබ් වෙලා තියෙන්නෙ. ඒ නිසා වරක ගැටය උඩ ඉඳන් පහලට සමාන කොටස් 3 කට කපාගෙන ඉන් පහලම පළුවෙන් කලං 6 ගන්න.), කුරුම්බා ඇට්ටිවල වතුර ලීටර් 2 යි, අමු කහ කැබලි ග්‍රෑම් 100 යි, මී තෙල් බෝතල් බාගයයි, පිරිසිදු එළඟි තෙල් බෝතල් බාගයයි, පිරිසිදු පොල් තෙල් බෝතල් 1 යි, පොල් අරක්කු අවුන්ස එකහමාරයි, ලුණු කැට 4 යි, රිදී කුඩු ග්‍රෑම් 10 යි, උළු හාල් කලං 2 යි, තිප්පිලි කලං 2 යි, කුරුඳු පොතු කලං 2 යි, ඉරමුසු අල (මුල්) කලං 2 යි, කොල්ලු කලං 2 යි.

පළමුව වට්ටක්කා කරටි, නිදිකුම්බා මල්, මුල්, පුවක් මද, වරක ගැටේ පහටිය පළුව, දිය තිප්පිලි, අරලිය, මුරුංගා පොතු, වෙරළු හොඳින් කොටා ගන්න. අමු කහ ටිකත් හොඳින් කොටාගෙන ඊට කුරුම්බ ඇට්ටි වතුර එකතු කරල දිය කරගන්න. ඉන්පසු ඒ වතුරෙන් කලින් කොටා ගත් බේත් මිශ්‍රණය කලවම් කරල මිරික ගන්න. මුට්ටියකට අරගෙන ඊට රිදී කුඩු ග්‍රෑම් 10 ක් දමා පොළවෙන් අඩි 6 ක් උසකින් තියල පොල් අරක්කු, මී තෙල්, එළඟි තෙල්, පොල් තෙල් එකතු කරල පැය 24 ක් තියල අරගන්න. ඊට ඇඟිලි 3 කට අහුවෙන ප්‍රමාණයේ ලුණු කැට 4 ක් එකතු කරල ලිපේ තියල හිඳ ගන්න. තෙල මතු වීගෙන එනකොට උළු හාල්, තිප්පිලි, කුරුඳු පොතු, ඉරමුසු අල (මුල්), කොල්ලු, හොඳින් කුඩු කරල තෙලට මිශ්‍ර කරන්න. මුදු පාකයේදී තෙල ලිපෙන් බා ගන්න.

පළමුව පොල් කටු දුමට ගම්මිරිස් කොළයක් අල්ලල රත් කරල උරහිසේ පටන් ඇඟිලි දක්වා අත් දෙකත්, උකුලේ පටන් පා ඇඟිලි දක්වා කකුල් දෙකත් තවන්න. ඉන්පසු තෙල් තේ හැන්දක් පමණ අරගෙන අත් පාවල ඉහල සිට පහලට රවුමට ගාන්න. ඉන්පසු රූප සටහනේ දක්වා ඇති පරිදි කකුල් දෙකේ මහපටැඟිලිවල මුලත්, අත් දෙකේ මහපටැඟිලිවල මුලත් සිදුරු කරල ලේ අරින්න. (වැඩි විස්තර සඳහා 16 කලාපයේ පළවූ අභයරතනාලංකාරය බලන්න.) ඒ සඳහා දෙහි / දොඩම් කටුවක් හෝ ඔසුහලකින් ලේ පරීක්ෂා කරන්න යොදා ගන්නා කටුවක් හෝ භාවිතා කරන්න. මේ විදිහට ලේ ඇරියම ඒ ලේත් එක්ක ශරීරයේ තියෙන විස ඉවත් වෙනවා. දැන් ශරීරයේ වෙනත් තැන්වල ළප කැළැල් තුවාල ආදිය තියේ නම් තෙල වෙනම ඒ තැන්වල ආලේප කරන්න. මේ විදිහට දින 7 ක් උදේ 7.00 ට කරන්න. අවශ්‍ය වුනොත් සුව වෙනකල් තවත් කාලයක් කරන්න.



**මහපට ඇඟිලි වල නිල පිහිටි ස්ථාන**

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 86 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දයකත්වය

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය කේ. සුමනරතන හිමි ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥමූර්ති හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ආර්. එච්. එම්. දිසානායක මහතා - ගොඩගම ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල ■ ප්‍රසන්න ජයතිලක මහතා - බොරලැස්ගමුව ■ දිනේෂ් සම්පත් මහතා - පිළියන්දල ■ කාංචනා ලක්මාලි මද්දුමගේ මෙනවිය - පිළියන්දල ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

## මූල්‍යමය දයකත්වය

■ සනත් දයාප්‍රේම මහතා සහ රේණුකා ජයවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 30,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු - 21,950/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 16,900/- ■ පරලෝ සැපත් ස්ටීවන් අල්විස් සමරකෝන් පියාණන්ට පිං පිණිස - සමරකෝන් පවුලේ සැම - කුරුණෑගල - රු. 11,200/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ වෛද්‍ය සංජීව මලින්ද මහතා, වෛද්‍ය ඉසුරු ගනේආරච්චි මහත්මිය, දහම්යා විදසුනී දුව - කිරිබත්ගොඩ - රු. 10,000/- ■ සහන් සල්පගේ මහතා - ඇමරිකාව, විමර්ශා සල්පගේ මෙනවිය - කිරිබත්ගොඩ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,450/- ■ වැවගෙදර ධම්මික නිලන්ත ප්‍රසාද් මහතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 7,000/- ■ නිලංක වීරතුංග මහතා සහ ලලනි මාවැල්ල විතානගේ මහත්මිය - ඇමරිකාව - රු. 6,800/- ■ එම්. ජයසූරිය මහතා - මාලබේ - රු. 6,100/- ■ සංජීව පද්මනාත් මහතා සහ මහත්මිය - කහතුඩුව, අශෝක ජයසේකර මහතා සහ චන්ද්‍රා ජයසේකර මහත්මිය - මාතලේ, රුවන් සමරසිංහ මහතා සහ මහත්මිය - හෝකන්දර, සසෙනාර්යා රාජපක්ෂ මහත්මිය සහ පවුලේ සැම - රද්දෙළගම, නිසංසලා හතුරුසිංහ මහත්මිය - කුරුණෑගල - රු. 6,000/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 5,100/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ යසෝදන, දනුෂි, දයා, ධනංජනී, ධනංජ යන මහත්ම මහත්මීන් ඇතුළු පිරිස - නුවර - රු. 5,000/- ■ අචලා ජයවීර මහත්මිය - බත්තරමුල්ල - රු. 5,000/- ■ ජී. ඒ. එරන්දි සඳසීලි මහත්මිය - කත්තොට - රු. 5,000/- ■ නෙළුම් විතාන මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 5,000/- ■ චාමර මධුසංක මහතා, නදීරා ගලගෙදරගේ මහත්මිය, යසඳි බිමංසා දුව - පිළියන්දල - රු. 5,000/- ■ පී. එන්. කෞෂික හසිත් ජයන්ත මහතා - යක්කල - රු. 5,000/- ■ අසන්ත ලක්ෂ්මන් පරණවිතාන මහතා ඇතුළු පිරිස - මෙල්බන් නුවර - රු. 5,000/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ, ලිතුලි ලියනගේ, තිසරි ලියනගේ යන දරුවන් - මහර - රු. 5,000/- ■ පරලෝ සැපත් වැලිකන්නගේ එමා මහත්මියට පිං පිණිස පවුලේ සැම - පාදුක්ක - රු. 5,000/- ■ එම්. පී. ප්‍රේමරත්න මහතා, එම්. පී. ෂේන් වාල්යා පතිරණ මෙනවිය, එන්. ඒ. දයාසීලි මහත්මිය - කටුවාවල - රු. 4,500/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 4,250/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,250/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව රු. 3,400/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,400/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය - ඇමරිකාව - රු. 3,400/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදින් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 2,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,050/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ ජී. එච්. ඒ. පුබුදු ලක්ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා, කේ. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය, කේ. ඩග්ලස් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 2,000/- ■ චමලී රණසිංහ මහත්මිය - දෙපානම - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ සම්පත් විජේකෝන් මහතා

- යක්කල - රු. 2,000/- ■ එරන්දතී සඳසීලි මහත්මිය - කත්තොට - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ දිල්හාර වික්‍රමාරච්චි මහතා - නෙළුම්දෙණිය - රු. 1,150/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ රසිකා අතුකෝරාල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ශාන් පුතා - රදවාන - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ ඩී. කේ. විජේසූරිය මහතා - අළුබෝමුල්ල - රු. 1,000/- ■ අනුරා ජයකොඩි මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ එල්. ඒ. වී. චන්ද්‍රසීලි මහත්මිය - අත්තිඩිය - රු. 1,000/- ■ ලක්ෂිකා සංජීවනී මහත්මිය - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ බී. ඒ. වීරසේන මහතා - යක්කල - රු. 1,000/- ■ සෝමා කස්තුරිආරච්චි මහත්මිය - අල්ගම - රු. 1,000/- ■ ඊ. ඩී. විල්සන් මහතා ඇතුළු පවුලේ සැම - දෙඩම්ගොඩ, කළුතර - රු. 1,000/- ■ ළහිරු කරුණාරත්න මහතා - මාතලේ - රු. 1,000/- ■ ටී. පී. ජී. බෙනට් මහතා - හෙට්ටිපොළ - රු. 1,000/- ■ විජය එරන්දි මහත්මිය - කළුතර - රු. 1,000/- ■ ප්‍රියන්ති රත්නායක මහත්මිය - නාගොඩ - රු. 1,000/- ■ ධම්මිකා හේරත් මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 1,000/- ■ බන්දු අමරවික්‍රම මහතා - පිළියන්දල - රු. 1,000/- ■ සෙව්මිණි ජයවීර මහත්මිය - බත්තරමුල්ල - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ කේ. ඒ. දුල්නිත නිසිඳු කුමාර පුතා - පාදුක්ක - රු. 1,000/- ■ තුසිත මංගල මහතා සහ විමලා නන්දසීලි කරුණාදාස මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, චමරි මල්කාන්ති මහත්මිය, පද්මා කුමාරි අබේකෝන් මහත්මිය, උවිඳි වික්‍රමසිංහ මෙනවිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, බණ්ඩාර දසනායක මහතා - උඩුගම, රෝයල් විජයවර්ධන මහතා - දවුලගල, එච්. කුලසේකර මහතා - රඹුක්කන, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, කළුතර දෙඩම්ගොඩ සිට පැමිණි දයක පිරිස, ප්‍රජාපතී ගෝතමී ආරාමයේ පින්වතුන්, ජනක කුමාර මහතා - ඇමරිකාව - එකතුව - රු. 6,450/- ■ විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 600/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 421,650/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 15,365/- ■ සම්පූර්ණ වියදම - රු. 410,615/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.37/- ■ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com  webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. පෙ. ව. 12.30 සිට 4.00 දක්වා 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන් පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

---

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රීවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

# මහ ධන සිටු පුතා



මහ ධන සිටුහු පෙර කල බරණැස විසුව
යහ තින කල ගෙවයි සුව පහසුව මුසුව
කහ වණු අසු කෙළ ගණනකි පොදි ගැසුව
පහ දනු වටී අත් වුන ඉරණම පසුව

අටු කොටු නොමඳ පිරී කිසිවකුදු අඩු නැති
සිටු හට සිටියෙ පුතෙකුය එකම අද රැති
දුටු එල කිමැයි වනු සිප් සතරැ දැනු මැති
තුටු පහසුව විසිය හැක ධනය යහ පති

පුතු කෙළි ලොල්ය අත මිට මොනවට සරුය
මතු පිරිහෙනු නිසැක හැම දුසිරිත හුරුය
සිතු සිටු මෙහැම බිරිඳක ගෙන එන තුරුය
යුතු පියඹක සෙවුම එය යහපති ගරුය

සමු වුනි ළඳක ඇය රූමත් සිටු දුවකි
ගැලපුනි පිය සිටුද එනුවරැ ධන වතෙකි
පුතු මෙනි එකම දුව එම අකුරුද නොහැකි
සිදු වුනි මගුල ඔවුනට ලොව රඟ හලකි

වැය කර ධනය කති බොති නටති තුටු වෙති
සුරපුරයකි සිතති ගිහි ගෙදර සැප ඇති
හුරු කර නොඅඩු ලෙස ලොව සියලු අව ගති
අත හැර දමති යහ ගුණ දිනෙක වැන සෙති

සුරා සූදුවට මුළු ධනය වැය වෙලා
පරා ජිත වෙලා සිටු ගෙයද විකුණලා
දරා ගනු කෙලෙස සේසතම වැනසිලා
නිරා දුක විඳිති සිඟමනට යොමු වෙලා

බිරිඳත් සමග මහ මග සිඟමන් යදිති
කවුරුත් මෙම දෙපළ දැක අවමන් කරති
අදවත් කුසට අහරක් ලැබෙතැයි සිතති
තතු දත් මහ සඟන දෙන අහරින් යැපෙති

නැණ මඳ තුරුණු අය සිය ධනය නොරකිති
අණ ගුණ හොඳ නරක හරි වරද නොදනිති
බණ දහමටද ගරහති පවෙහි හැසිරෙති
මන සද වියරු වෙයි අසරණව මියයති

(ධම්ම පදය - ජරා වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# වුවත් බුදු දම ලොවට තේමා නිවන තහනම් වදන වේ...

රටේ සිවු කොන සසුන් පිළිවෙත දුසිරිතෙන් නෙක ගිල ගනී
කටේ අග්ගල ලෙසින් කිසිවෙක් වෙතින් වදනක් නොම පනී
බැටේ දෙයි සිල්වත් තෙරුන් හට බලය යොදවා ගෙන බනී
වටේ ගෙරවුම් රැවුම් ගැරහුම් නිවනටම එරෙහිව තැනී

ලොවේ සම්මත බලය යොදවා නිවන් මග කියවෙන දෙසුම්
යැවේ නම් යට සසුන තුල හිඳ කිමද ඒ පිරිසගෙ පැතුම්
පවේ හැටි නොහඳුනා කරනා සසුන් මග වනසන සිතුම්
නොවේ යහතින් ඉන්න මළ විට පමණි සෝ කඳුලැලි සුසුම්

බණක් කියනට නිදහසේ දැන් ඉඩක් නැති බව පෙනී යයි
අණක් එයි ගිහි පැවිද්දන්ගෙන් ලෝ සතුන් තව අනා තයි
පිනක් කරගෙන ඉන්න විතරයි නිවන් යන්නට නොවේ මැයි
තැනක් ගෙන වැජඹෙන්න ආසයි සසුන් කෙත අද මෙසේ වෙයි

සතට නිවෙනා බණ දෙසන විට වැදි බණක් ලෙස ගරහතී
රටට අඬ බෙර ගසා ඒ ගැන මඩ පුවත් නෙක පතුරතී
සිතට එකඟව වැරදිමුත් තම පැවතුමට පාඩුය සිතී
කටට එන දොස් වදන් පිට කර මතු භවයෙ දුගතියෙ යතී

වුවත් බුදු දම ලොවට තේමා නිවන තහනම් වදන වේ
දැනත් ලොව තතු තමන්ගේ බඩ වඩා ගන්නට හිත දිවේ
බණත් වහනට නොයෙක් කෙණෙහිලි කසාවත තුල අවදි වේ
පැවැත්මට හිත තබා දුලභ වූ දහම වැනසුම නිසි නොවේ

කකා බී නොම රැඟුම් නටනා එවුන් සසුනට මුවා වී
තකා තම කම් සැපත බුදු අණ නොපිළිපැද ගතු කියා වී
නොකා දන් පත ණයට බුදු මග වඩන යතිවරු දිනා වී
රැකා දම් මග දෙසා සත හට අමා මොක් සුව සදා වී

නිවන් දෙන දහමවත් හරියට අහන්නට ඉඩ නැති ලොවේ
තමන් රිසි ලෙස නොමැති බව දැක ගන්න කදිමය ලැබූ භවේ
නොවන් විරසක හේතු ඵල මිස මෙවන් දේ අහඹුව නොවේ
මෙවන් දුක දෙන ලොවින් පැනගෙන ලබා ගනු ලොව්තුරු සුවේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1086 RS.25.00
HELA BODHU PIYUMA 86

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.